ත්‍රිපිටකය ඇසුරින් සකස් කළ බුද්ධ දේශිතයේ මූලික කරුණු

# බුද්ධ වචනය



ජර්මන් ජාතික ඤාණාතිලෝක මහතෙර



ජර්මන් ජාතික
ඤාණාතිලෝක මහතෙර

උපත :
1878 පෙබ: 10
ජර්මනියේ දී

අපවත් වීම :
1957 මැයි 28
කොළඹ දී

# බුද්ධ වචනය

කීර්තිමත් ජර්මන් ජාතික විද්වත් භික්ෂුව විසින් ප්‍රථමව ඉංග්‍රිසි බසින් පළකල මෙම අගනා කුඩා ග්‍රන්ථය බොහෝවිටෙක මෙතෙක් ඉංග්‍රීසි බසින් බිහිවූ හොඳම සංක්ෂිප්ත ග්‍රන්ථය ලෙස සැලකිය හැක. මූලික බුද්ධ දේශිතය ඒ අයුරින්ම පෙළගස්වා පැහැදිලිව සරලව මීට අවුරුදු 118කට පෙර රචිත විවිධ භාෂාවලට පරිවර්තනය කර ඇති මෙම ග්‍රන්ථය දැනුදු නැවුම්ව, පැහැදිලිව, ප්‍රබලව අවබෝධ කළහැකි ග්‍රන්ථයක් ලෙස කියවිය හැක.

භික්ඛු බෝධි

ISBN : 978-624-93711-0-1




මුද්‍රණය : කොලිටි ප්‍රින්ටර්ස් - 0112 809 499

# බුද්ධ වචනය

පාලි ත්‍රිපිටකය ඇසුරින් සකස් කළ බුද්ධ දේශිතයේ
මූලික කරුණු

පාලි බසින් පරිවර්තනය කර විස්තර කර
සම්පාදනය කරන ලදුයේ

අතිපූජ්‍ය ඤාණාතිලෝක මහතෙර

**පරිවර්තනය**

එස්. එෆ්. ද සිල්වා

2508
1964

ධර්ම දානයක් වශයෙන් නොමිලයේ බෙදාදීම පිණිසයි.

ප්‍රථම ජර්මන් භාෂා මුද්‍රණය - 1906
ප්‍රථම ඉංග්‍රීසි භාෂා මුද්‍රණය - 1907
ප්‍රථම සිංහල භාෂා මුද්‍රණය - 1964
දෙවන සංශෝධිත සිංහල භාෂා මුද්‍රණය - 2024

# බුද්ධ වචනය

අතිපූජ්‍ය ඤාණතිලෝක මහතෙර

**පරිවර්තනය**
එස්. එෆ්. ද සිල්වා

**සිංහල මුද්‍රණයේ ප්‍රකාශන භාරකාරත්වය**
සාලිය පුලසිංහ
'ඉඳුබිල'
මිදෙල්ලමුලහේන,
හොරණ. 12400
දුරකථන/වට්ස්ඇප් 0774283536
sspulasinghe@gmail.com

ISBN : 978-624-93711-0-1

මුද්‍රණය
**කොලිටි ප්‍රින්ටර්ස්**
17/2, පැඟිරිවත්ත පාර,
ගංගොඩවිල, නුගේගොඩ. 011 2809 499

# පුණ්‍යානුමෝදනාව

මෙම සංශෝධිත සිංහල ග්‍රන්ථය එය ප්‍රථමව ජර්මන් බසින් එළිදැක්වූ ජර්මන් ජාතික අතිපූජ්‍ය ඤාණාතිලෝක මහ තෙරුන්වහන්සේට පූජෝපහාරයක් ම වේවා!

මෙම අගනා ග්‍රන්ථයේ මුල් සිංහල පිටපතක් අහම්බයක් මෙන් මා අතට පත්කළ කල්‍යාණ මිත්‍ර ලාල් දයානන්ද මහතාට ද මුල් සිංහල පිටපත රචිත එස්. එෆ්. ද සිල්වා මහතාට ද, මුල් ප්‍රකාශක ආනන්ද සේමගේ මහතාට ද එහි නව ප්‍රකාශන භාරකරත්වය මා හට ලබා දුන් ඔහුගේ පුත් කුමාර සේමගේ මහතාට ද නිර්වාණාවබෝධය පිණිස ම මෙම කුසල සම්පත් හේතු වේවා!

මෙම ග්‍රන්ථය නව මුද්‍රණය සඳහා මුල් සිංහල ග්‍රන්ථයේ සියලු දෝෂ සකසා මනා ලෙස නිමකර දුන් පූජ්‍ය උඩුහාවර ආනන්ද තෙරුන්වහන්සේට පතන්නා වූ බෝධියකින් නිර්වාණාවබෝධය පිණිස ම මෙම මහත් කුසල සම්භාරය හේතු වාසනා වේවා! උන්වහන්සේගේ කැපවීම නොවන්නට මට මෙවැනි ග්‍රන්ථයක් පළකල නොහැකිය.

එමෙන්ම මෙම ග්‍රන්ථය නිමකිරීමට මට අගනා සහයක් ලබාදුන් චේතක ජයසෝම මහතා ඇතුලු කොලිටි ප්‍රින්ටර්ස් කාර්ය මණ්ඩලය ද මෙම කුසල් අනුමෝදන් වේවා!

අවසන් වශයෙන් මා මෙලොවට බිහිකළ දෙමව්පියන්ට ද මා හට කුසල් සම්පත් රැස්කිරීමට දිරි දෙන බිරිඳ හා දරුවාට ද අවසන්ව මා හට ද උතුම් වූ නිර්වාණාවබෝධය පිණිස ම මෙම මහත් කුසලය උපකාරී වේවා!

මෙම සංශෝධිත මුද්‍රණයේ සදොස් තැන් ඇතොත් ඉදිරි මුද්‍රණයකදි නිදොස් කිරීමට දන්වන්නේ නම් කෘතඥ වෙමි.

මෙම ග්‍රන්ථය කියවා යම් අයෙක් ධර්ම මාර්ගයෙහි හැසිරෙන්නේ නම් එය ඔවුන්ගේ නිර්වාණාවබෝධය පිණිස ම හේතු වේවා!

**සාලිය පුලසිංහ**

# පෙරවදන

මුල් බුදු දහම යුරෝපයට හඳුන්වාදීමේ පුරෝගාමී මෙහෙවරක් සිදුකළ ජර්මන් ජාතික විද්වත් පරපුර නියෝජනය කළ අතිපූජ්‍ය ජර්මන් ජාතික ඤාණතිලෝක හිමියෝ කීර්තිමත් ථේරවාද බෞද්ධාචාර්යවරයෙකි. ථේරවාද පාලි ත්‍රිපිටකය හා තදායත්ත අට්ඨකථා සාහිත්‍ය විමර්ශනය කිරීමෙන් ඒවායේ අන්තර්ගත සුවිශේෂ ධර්ම පාඨ එක් රැස් කොට විවිධ මාතෘකා යටතේ පෙළගස්වා අර්ථවත් ධර්ම සංග්‍රහයක් වශයෙන් ඉදිරිපත් කිරීම ඤාණතිලෝක හිමියන්ගේ ධර්ම ශාස්ත්‍රීය සේවාවෙහි කැපීපෙනෙන ලක්ෂණයකි. මෙසේ සංගෘහිත ලේඛන බොහෝමයක් මහනුවර බෞද්ධ ග්‍රන්ථ ප්‍රකාශන සමිතිය මගින් ඉංග්‍රිසි මාධ්‍යයෙන් මෙන්ම සිංහල භාෂාවට පරිවර්තනය කොට ප්‍රකාශයට පත්කර තිබේ. මෙම ලේඛන සමුච්චය බෙහෙවින් වැදගත් වන්නේ ඒවා මුල් බුද්ධ වචනය ඒ ආකාරයෙන්ම ඉංග්‍රිසි භාෂාවට පරිවර්තනය කිරීමට උන්වහන්සේලා තුළ පැවති උනන්දුව මෙන්ම විශේෂ මාතෘකාවකට අදාළ ධර්ම පාඨ ඉතා පරිස්සමෙන් තෝරාගෙන ඒ සියල්ල විධිමත් පිළිවෙලකට අනුව පෙළගස්වා ඉදිරිපත් කිරීමෙහිලා දරන ලද අවංක ප්‍රයත්නය හේතුවෙනි. බුද්ධ වචනය බාහිර දෘෂ්ටිවාද වලින් හා ස්වකීය වූ අර්ථ විවරණවලින් දූෂණය නොකර පිරිසිදුව ඒ ආකාරයෙන්ම ඉදිරිපත් කිරීම නිසා එහි සාරය කියවන්නාට නිරවුල්ව හා නැවුම්ව ග්‍රහණය කරගැනීමට අවස්ථාව සළසා දීමෙන් පැහැදිලි වන්නේ සම්බුද්ධ දේශනාව කෙරෙහි උන්වහන්සේලා තුළ පැවති සාතිශය භක්ත්‍යාදරයයි. මෙම සාරවත් ධර්ම සංග්‍රහ කියවූ යුරෝපීය මෙන්ම දේශීය උගත්තු බුදුසමයෙහි අන්තර්ගත දාර්ශනික මනෝ විද්‍යාත්මක, ආචාර විද්‍යාත්මක හා ප්‍රායෝගික ඉගැන්වීම් වැළඳ ගනිමින් බෞද්ධ ප්‍රතිපදාව කෙරෙහි ආසක්ත වූහ. අතිපූජ්‍ය ඤාණතිලෝක හිමියන් විසින් ඉංග්‍රිසි භාෂාවෙන් සම්පාදිත ධර්ම සංග්‍රහ ග්‍රන්ථ පසුකාලයේ සිංහල උගත්තු විසින් සිංහල භාෂාවට නැගීමෙන් පොදු ජනයාට බුදු සමයේ සාරය පෙරා දීමට දැරූ ප්‍රයත්නය බෙහෙවින් අගයකළ යුතුවේ.

ඒ අනුව යමින් අතිපූජ්‍ය ඥාණාතිලෝක හිමියන් විසින් 1907 වර්ෂයේ දී මුද්‍රිත ''The Word of the Buddha'' නම් ධර්ම සංග්‍රහය 1964 වර්ෂයේදී එස්. එෆ්. ද සිල්වා මහතා විසින් ''බුද්ධ වචනය'' නමින් සිංහලට පරිවර්තනය කොට මුද්‍රාපිතය. මෙයින් වසර හැටකට පෙර සම්පාදිත සිංහල පරිවර්තනයේ සදොස් තැන් නිදොස් කරමින් සංස්කරණය කොට නැවත මුද්‍රණය කිරීමෙහිලා සාලිය පුලසිංහ මහතා විසින් දරන ලද ප්‍රයත්නය ප්‍රශංසනීය වන අතරම ධර්ම දානයක් ලෙස මෙම ධර්ම සංග්‍රහය සමාජගත කිරීමෙහි ලා එතුමන් තුළ විකසිත වූ කරුණාන්විත චේතනාව බෙහෙවින් අගයකළ යුතු වේ. වර්තමානයේ බොහෝ ධර්ම ග්‍රන්ථ සම්පාදනය වුවද ඒ සියල්ල පුද්ගල මතවාද නැමැති දෘෂ්ටිවලින් කිලිටි වී ඇති හෙයින් කියවන්නා තුළ ධර්මය සම්බන්ධයෙන් වැරදි වැටහීම් ඇතිවී තිබෙන අයුරු ඔවුන්ගේ ප්‍රකාශන හා හැසිරීම්වලින් සනාථ වේ. තථාගත බුද්ධ වචනය පිළිබඳ විවිධ විකෘති කිරීම් බහුලව අසන්නට ලැබෙන මෙම යුගයේ පිරිසිදු බුද්ධ වචනය ඒ ස්වරූපයෙන්ම ගෙනහැර දක්වා ඇති මෙම ධර්ම සංග්‍රහය කියවීමෙන් දහම පිළිබඳ නැවුම් ආස්වාදයක් මෙන්ම ඥාණයක් අත්පත්කර ගත හැකි අතර එමගින් ජනිත නිරාමිස ප්‍රීතිය ඉදිරියේ ලැබෙන නිර්වාණ සැපත පිළිබඳ පූර්ව නිමිත්තක් වනු නොඅනුමානය.

**මහාචාර්ය උඩුහාවර ආනන්ද හිමි**

බෞද්ධ අධ්‍යයන අංශය

කොළඹ විශ්වවිද්‍යාලය

# හැඳින්වීම

1. "බුද්ධ" යනු සියල්ල දැන අවබෝධ කරගත් තැනැත්තා යන්න අර්ථවත් වූ බටහිර ලෝකයේ බුද්ධාගම යන නමින් හැඳින්වෙන විමුක්ති ධර්මය සොයාගෙන ලෝකයට ප්‍රකාශ කළා වූ ගෝතම නම් ඉන්දීය මුනිවරයාණන් වහන්සේට දෙන ලද ගෞරව නාමයකි.

වර්තමාන නේපාල භූමියේ පිහිටි රාජ්‍යයක් වූ ශාක්‍ය ජනපදය පාලනය කරන රජුගේ පුත්‍ර රත්නය වශයෙන් ක්‍රිස්තු පූර්ව හය වන සියවසේ දී කපිලවස්තුවෙහි උන් වහන්සේ ඉපදුණ සේක. එතුමාගේ පෞද්ගලික නාමය සිද්ධාර්ථ වූ අතර වංශ නාමය ගෝතම නම් විය (සංස්කෘත-ගෞතම). එතුමා විසි නවවැනි වියෙහි දී තම රජ යසඉසුරුත් කුමාර ජීවිතයේ ශ්‍රී විභූතියත් අත්හැර දමා, තමා විසින් ම ලෝකය දුක් සහිත යැයි කලින් ම අවබෝධ කරගෙන සිටි හෙයින් එයින් මිදීමක් සෙවීම සඳහා අනගාරික වූ තපස්වරයකු බවට පත්විය. නොයෙක් ධර්මාචාර්යවරයන් යටතේ අධ්‍යයනය කිරීමෙන් ද නිෂ්ඵල වූ උග්‍ර තපස් ක්‍රම අනුගමනය කිරීමෙන් ද දුකින් මිදීමේ මාර්ගය සොයා ගවේෂණයෙහි යෙදී අවුරුදු සයක් ගෙවා ගයාවෙහි පිහිටි බෝධි වෘක්ෂයක් අබියස උන්වහන්සේ සම්බුද්ධත්වයට (සම්මා සම්බෝධියට) පැමිණි සේක. ඉන්පසු හතළිස් පස් වසරක් ගත කොට ඉතා අවිවේකී ව ධර්මය දේශනා කරමින් ද, උගන්වමින් ද, අවසානයේ දී අසූවැනි වියෙහි දී "ලෝකයාගේ ශුභසිද්ධිය හා ආශීර්වාදය සඳහා පහළ වූ මුළාවෙන් තොර වූ ඒ අතිශ්‍රේෂ්ඨ මනුෂ්‍යයාණෝ (අච්ඡරිය මනුස්ස)" කුසිනාරාවෙහි දී පිරිනිවන් පෑ සේක.

බුදුරජාණන් වහන්සේ වනාහි දෙවියකු ද නොවූ බ්‍රහ්මයකුද නොවූ දෙවි කෙනකුගේ අවතාරයක් ද නොවූ තමාගේ උත්සාහය හේතු කොටගෙන මිදීමටත් පිරිපුන් නුවණටත් පැමිණි දෙව්-මිනිසුන්ගේ ද අද්විතීය ශාස්තෘවරයා වූ අතිශ්‍රේෂ්ඨ මනුෂ්‍යයෙකි (සත්ථා දේවමනුස්සානං). උන් වහන්සේ

'ගැලවුම්කාරයාණන්' වන්නේ ''තමා විසින් ගිය, තමා විසින් පෙන්වාදෙන ලද මාර්ගය ඇත්ත වශයෙන් ම අනුගමනය කිරීමෙන් මිනිසුන්ට ඔවුන්ගේ ගැලවීම සොයාගන්නා ආකාරය පෙන්වාදෙන්නේ ය'' යන අර්ථයට අනුව පමණි. බුදුන් වහන්සේ විසින් අත්පත් කරගන්නා ලද ප්‍රඥාව හා කරුණාව යන දෙකේ යහපත් වූ පරිසමාප්ත මිශ්‍රණයෙහි ප්‍රතිඵලයක් වශයෙන් උන් වහන්සේ සාධාරණ වූද, සදාතනික වූ ද පරිපූර්ණ වූ ද මනුෂ්‍යත්වයේ ප්‍රතිමූර්තිය බවට පත්වූ සේක.

2. ධර්මය යනු බුදුන් වහන්සේ විසින් ම සොයා අවබෝධ කරගෙන ප්‍රකාශ කරන ලද අන්දමට දුකින් මිදීම පිළිබඳ වූ සම්පූර්ණ ඉගැන්වීම යි. ඒ ධර්මය ත්‍රිපිටකය යනුවෙන් හැඳින් වෙන කොටස් තුනකට බෙදා ඇත.

(1) භික්ෂු සංඝයා පිළිබඳ විනය නීති ඇතුළත් විනය පිටකය

(2) චතුරාර්ය සත්‍ය දේශනාවට ඇතුළත් නොයෙකුත් දේශනා, ධර්ම කථා, සංවාද, ගාථා පාඨ ආදියෙන් යුක්ත සූත්‍ර දේශනා අඩංගු සූත්‍ර පිටකය

(3) සූත්‍ර පිටකයේ ඇතුළත් ධර්ම කරුණු ක්‍රමවත් ලෙසත් න්‍යායානුකූල ලෙසත් පිළියෙල කරන ලද ගැඹුරු ධර්මය ඇතුළත් අභිධර්ම පිටකය

පැරණි ධර්ම පුස්තකවල පාළි භාෂාවෙන් ලියා ආරක්ෂා කොට අඛණ්ඩ ව පවත්වාගෙන එනු ලැබේ.

ධර්මය යනු අනාවරණ මාර්ගයක් නොව යථා තත්වය පිළිබඳ පැහැදිලි අවබෝධය ගොඩනගන නිවන හෙවත් විමුක්තිය පිළිබඳ ඉගැන්වීමකි. ඒ වනාහි විදර්ශනාව වැඩීමට හා ක්ලේශයන් මැඬීමට කරන ලද මිනිසාගේ ම ආරබ්ධ වීර්යය නිසා ලබාගත හැකි මිදීම හා ජීවිතය පිළිබඳ මූලික කරුණු ඇතුළත් චතුරාර්ය සත්‍යය පිළිබඳ ඉගැන්වීම යි. ඉතා උදාර, යථාර්ථවත් ආචාර විද්‍යාත්මක ක්‍රමයක් ද ජීවිතය පිළිබඳ තියුණු විග්‍රහයක් හා ගැඹුරු දර්ශනයක්ද සහිත සිත සංවර කරගැනීමේ ක්‍රමවේදයක් හෙවත් නිවන්මඟ සඳහා පෘථුල වූ ද, සම්පූර්ණ වූ ද මඟ පෙන්වීමක් ධර්මයෙන් ලබාදෙන්නේ ය. සිතිවිලි හා පැවැත්ම පිළිබඳ නිශ්චල

වූත් හානිකර වූත් අන්ත දෙක (කාමසුඛල්ලිකානුයෝග හා අත්තකිලමථානුයෝග) ඉක්මවා යන විමුක්තිය සහිත මධ්‍යම ප්‍රතිපදාව පෙන්වාදීමෙන් ධර්මය වනාහි එහි පණ්ඩිතබුද්ධිය අගය කිරීමට හැකි වන තරම් වූ මුහුකුරා ගිය සිත් ඇති තැන්වල නිරන්තරයෙන් ම ආදරය හා ගෞරවය දිනාගන්නා දෙයකි.

3. සංඝ යනු, බුදුන් වහන්සේ විසින් පැහැදිලි කරන පරිදි සමාජය නොහොත් සමූහය යන අර්ථ දෙන බුරුමය, තායිලන්තය, ලංකාව, කාම්බෝජය සහ බංග්ලාදේශයට අයත් චිතගොන් යන ප්‍රදේශයන්හි දැනුදු මුල් ස්වරූපය නොබිඳී පවතින භික්ෂු ශාසනය යි. මේ භික්ෂු ශාසනය සහ ජෛන භික්ෂු ශාසනය ලෝකයේ පැරණි ම ආරණ්‍ය භික්ෂු ශාසන වේ. බුදුන් වහන්සේ දවස ප්‍රසිද්ධියට පත් ව සිටි ශ්‍රාවකයන් වහන්සේලා අතර ගැඹුරු ධර්මඥානය පිළිබඳ බුදුන් වහන්සේට පමණක් දෙවැනි වූ සාරිපුත්ත මහරහතන් වහන්සේ ද ඍද්ධිප්‍රාතිහාර්යයෙහි අගතැන්පත් මුගලන් මහරහතන් වහන්සේ ද බුදුන් වහන්සේගේ ප්‍රධාන උපස්ථායක වූ ද උන් වහන්සේ ළඟින් ම නිතර ඇසුරු කළ තැනැත්තා වූ ද ආනන්ද තෙරුන් වහන්සේ ද බුද්ධ පරිනිර්වාණයත් සමග ම වූ රජගහ නුවර පැවති ධර්ම සංගායනාවේ මුලසුන දැරූ මහකස්සප මහරහතන් වහන්සේ ද නිවැරැදි සිහිය සහ දිවැස් ඇත්තවුන් අතර අග්‍ර යැයි සලකනු ලැබූ අනුරුද්ධ මහරහතන් වහන්සේ ද බුදුන් වහන්සේගේ ම පුත්‍ර රාහුල තෙරුන් වහන්සේ ද වූහ.

සංඝයා වහන්සේ ලෞකික ඇලීම්වලින් බාධා නොවූ උත්කෘෂ්ට නිවන සාදාගැනීම සඳහා තම ජීවිතය මුළුමනින් ම කැප කිරීමට දැඩි ලෙස කැමැති සැම දෙනාට අවශ්‍ය බාහිර මූලිකාංග හා සුදුසු වාතාවරණය පිළිබඳ ආදර්ශය සපයාදෙන්නෝ ය. එබැවින් ආගමික වර්ධනය මුහුකුරා ගිය තැන්වල දී සංඝයා වහන්සේ සර්ව සාධාරණ විශිෂ්ටත්වයක් උසුලන්නාහ.

# ත්‍රිවිධ සරණය

බුද්ධ, ධම්ම හා සංඝ යනු ත්‍රිවිධ රත්නය යැයි කියනු ලබන්නේ එහි ඇති අසමසම වූ පාරිශුද්ධිය නිසා ද බෞද්ධයාට ලෝකයේ ම ඇති ඉතා ම අනගි රත්නය නිසා ද වේ. මේ ත්‍රිවිධ රත්නය බෞද්ධයාගේ වචනවලින් කිවහොත් තිසරණයට ඇතුළත්වේ. එය තෙවරක් ප්‍රකාශ කිරීමෙන් තමාගේ ජීවිතය හා සිතුවිලි හැඩගස්වන මාර්ගෝපදේශකත්වය හැටියට පිළිගනු ලැබේ. පහතින් දැක්වෙන පාලි පාඨ බුදුන් වහන්සේ දවසමෙන් දැනුදු ඒ අකාරයෙන් ම භාවිතයට ගැනේ.

බුද්ධං සරණං ගච්ඡාමි
ධම්මං සරණං ගච්ඡාමි
සංඝං සරණං ගච්ඡාමි

මම බුදුන් සරණ යමි
මම ධර්මය සරණ යමි
මම සංඝයා සරණ යමි

මෙම පාඨය තුන් වරක් කීමෙන් එම පුද්ගලයා බෞද්ධයකු බවට පත් වේ. මෙම වචන දෙවැනි, තුන්වැනි වර කීමේ දී දුතියම්පි, තතියම්පි (දෙවනුවත්, තෙවනුවත්) යන වචන මුලින් යොදා කියනු ලැබේ.

# පංච ශීලය

තිසරණයෙන් පසු පන්සිල් සමාදන් වීම සාමාන්‍ය බෞද්ධ පිළිවෙළ යි. මෙම සිල්පද සමාදන් වීම යහපත් ජීවිතයකට අවශ්‍ය මූලික පදනම වශයෙන් ද විමුක්තිය සාක්ෂාත් කිරීමට අවශ්‍ය  අවම සීලය වශයෙන් ද පිළිගැනේ.

1. පාණාතිපාතා වේරමණී සික්ඛාපදං සමාදියාමි
   ප්‍රාණ ඝාතයෙන් වැළකීමේ ශික්ෂා පදය සමාදන් වෙමි.

2. අදින්නාදනා වේරමණී සික්ඛාපදං සමාදියාමි
   නොදුන් දෑ ගැනීමෙන්  වැළකීමේ ශික්ෂා පදය සමාදන් වෙමි.

3. කාමෙසු මිච්ඡාචාරා වේරමණී සික්ඛාපදං සමාදියාමි
   කාමයෙහි වරදවා හැසිරීමෙන් වැළකීමේ ශික්ෂා පදය සමාදන් වෙමි.

4. මුසාවාද වේරමණී සික්ඛාපදං සමාදියාමි
   බොරු කීමෙන් වැළකීමේ ශික්ෂා පදය සමාදන් වෙමි.

5. සුරාමේරය මජ්ජ පමාදට්ඨානා වේරමණී සික්ඛාපදං සමාදියාමි
   මදයට හා ප්‍රමාදයට හේතුවන මත්පැන් පානය කිරීමෙන් වැළකීමේ ශික්ෂා පදය සමාදන් වෙමි.

# බුද්ධ වචනය

## හෙවත්

# චතුරාර්ය සත්‍යය

සර්වඥ වූ භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළ සේක. උතුම් වූ සත්‍ය කරුණු සතර නොදැනීම නිසා මෙසේ දිගු කලක් මා විසිනුත්, ඔබ විසිනුත් මේ දීර්ඝ සංසාරයෙහි නැවත නැවතත් උපත ලද්දේ ය. සැරිසරන ලද්දේ ය. ඒ කවර නම් සතරක් ද යත්

1. දුක්ඛ හෙවත් දුක පිළිබඳ ආර්ය සත්‍යය
2. දුක්ඛ සමුදය හෙවත් දුක ඇති වීමට හේතු වන ආර්ය සත්‍යය
3. දුක්ඛ නිරෝධය හෙවත් දුකින් නිදහස් වීම නම් වූ ආර්ය සත්‍යය
4. දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා හෙවත් දුකින් නිදහස් වීමේ ප්‍රතිපදාව නම් වූ ආර්ය සත්‍යය (දී.නිII, මහාපරිනිබ්බාණ සූත්‍රය).

මට යම් තාක් කල් මේ චතුරාර්ය සත්‍යයන්හි යථාභූත ඥාන දර්ශනය පිරිසිදු නොවී ද, ඒ තාක් කල් මම දෙවියන් හා බඹුන් සහිත වූ ලෝකයෙහි ද මහණ බමුණන් ඇතුළු මිනිසුන් සහිත වූ ප්‍රජාව අතරෙහි ද අනුත්තර වූ සම්මා සම්බෝධිය අවබෝධ කළෙමි යි ප්‍රතිඥා නොකෙළෙමි. මට මේ චතුරාර්ය සත්‍යයන්හි යථාභූත ඥාන දර්ශනය මනාව පිරිසිදු ව අවබෝධ වූයේ ද එකල්හි දෙවියන් හා බඹුන් සහිත වූ ලෝකයෙහි ද මහණ බමුණන් ඇතුළු මිනිසුන් සහිත වූ ප්‍රජාවෙහි ද අනුත්තර වූ සම්මා සම්බෝධිය අවබෝධ කළෙමියි ප්‍රතිඥා කළෙමි (ස.නි V, සච්ච සංයුත්තය, ගතියෝ පඤ්චක).

ඉනික්බිති මට මෙසේ අදහස් විය. මා විසින් අවබෝධ කරගන්නා ලද ධර්මය ඉතා ගැඹුරු ය. දැකීම දුෂ්කර ය. අවබෝධ කරගැනීමට අසීරුය. ශාන්ත ය, ප්‍රණීත ය, තර්කයෙන් බැසගත නොහැක. සියුම් ය, පණ්ඩිතයන් විසින් දත යුතු ය. මේ සත්ත්ව

ප්‍රජාව පංචකාමයෙහි ඇලී සතුටු වන්නේ ය. පංචකාමයෙහි ආශා ඇත්තේ ය. මෙසේ පංචකාමයෙහි ඇලී සතුටු වන්නා වූ ආශා කරන්නා වූ මේ සත්ත්ව සමූහයාට මේ හේතුවෙන් මේ ඵලය ඇතිවන්නේ ය යන පටිච්ච සමුප්පාදය දැකගැනීම අපහසු ය. සියලු සංස්කාරයන්ගේ සංසිඳීමට හේතු වූ සියලු උපධීන්ගෙන් මිදීමට හේතු වූ, තෘෂ්ණාව නැති වීමට හේතු වූ, කෙලෙස් පහ කිරීමට හේතු වූ, සියලු දුක් නැති කිරීමට හේතු වූ, යම් ඒ නිර්වාණයක් වේ ද යන මේ කාරණය දැකගැනීමට අපහසු ය. එහෙත් බුදු ඇසින් ලොව බලන්නා වූ මම ස්වල්ප වූ රාගාදී කෙළෙස් ඇත්තා වූ ද, තියුණු වූ ශ්‍රද්ධා ආදි ඉන්ද්‍රිය ඇත්තා වූ ද, පරලොව හා වරදෙහි භය දකිමින් වාසය කරන්නා වූ ද, පහසුවෙන් ධර්මය අවබෝධ කරවිය හැකි වූ ද සත්ත්වයන් දුටිමි. ඔවුහු මේ ධර්මය ඇසුවෝ නම් වහා ම අවබෝධ කරගන්නෝ යැයි මාගේ බුදු ඇසින් දුටුවෙමි (ම.නි I, අරියපරියේසන සූත්‍රය).

# පළමුවන ආර්ය සත්‍යය

# දුක්ඛ ආර්ය සත්‍යය

දුක්ඛ ආර්ය සත්‍යය නම් කවරේ ද? ඉපදීම දුක ය; ජරාවට පත් වීම දුක ය; රෝගී වීම දුක ය; මරණය දුක ය; ශෝක කිරීම, වැලපීම, කයෙහි දුක, සිතෙහි දුක, ශෝක කිරීමෙන් වන වෙහෙස යන මේවා ද දුක් වේ. අප්‍රිය දෙය හා එක් වීම ද, ප්‍රිය දෙයින් වෙන් වීම ද, ප්‍රිය දෙයක් නොලැබීම ද දුක වන්නේ ය. කෙටියෙන් කිවහොත් උපාදාන ස්කන්ධ පස ම දුකක් බවට පත් වන්නේ ය.

ජාතිය නම් කවරේ ද? ඒ ඒ සත්ත්වයන්ගේ ඉපදීමක් වේ ද, හටගැන්මක් වේ ද, උත්පත්තියට ඇතුළත් වීමක් වේ ද, ස්කන්ධයන්ගේ පහළ වීමක් වේ ද, ආයතනයන්ගේ හටගැනීමක් වේ ද, එය ජාතිය යැයි කියනු ලැබේ.

ජරාව නම් කවරේ ද? ඒ ඒ සත්ත්වයන්ගේ යම් ජරාවක් වේ ද, දිරන බවක් වේ ද, පැසී සුදු වූ කෙස් ඇති වේ ද, හම රැලි වැටීමක් වේ ද, ආයුෂයාගේ පිරිහීමක් වේ ද, ඉන්ද්‍රියන්ගේ දිරීමක් වේ ද, මේ ජරාව යැයි කියනු ලැබේ.

මරණය නම් කවරේ ද? ඒ ඒ සත්ත්වයන්ගේ චුත වීමක් වේ ද, වෙන්වීමක් වේ ද, බිඳීමක් වේ ද, අතුරුදහන්වීමක් වේ ද, මියයාමක් වේ ද, ස්කන්ධයන්ගේ බිඳීමක් වේ ද, ශරීරයාගේ බැහැර දැමීමක් වේ ද, මේ මරණය යැයි කියනු ලැබේ.

ශෝකය නම් කවරේ ද? යම් යම් විපතකින් යුක්ත වූ සත්ත්වයාගේ ද, යම් යම් දුකකට පත්වූ ස්කන්ධයන්ගේ ද ශෝකයක් වේ ද, ශෝක කරන බවක් වේ ද, ශෝක කිරීමක් වේ ද, සිතෙහි තැවීමක් වේ ද, විශේෂයෙන් ඥාතිව්‍යසනාදියෙන් තැවීමක් වේ ද මේ ශෝකය යැයි කියනු ලැබේ.

පරිදේවය නම් කවරේ ද? යම් යම් විපතකින් යුක්තවූවන්ගේ ද, යම් යම් දුකකට පත් වූවන්ගේ ද යම් වැලපීමක්

වේ ද, විලාප කීමක් වේ ද, නම කිය කියා හැඬීමක් වේ ද, ගුණ කිය කියා හැඬීමක් වේ ද, යම් හැඬීමක් වේ ද, යම් විලාප කීමක් වේ ද, මෙය පරිදේව යැයි කියනු ලැබේ.

දුක නම් කවරේ ද? කයෙහි වූ යම් දුකක් වේ ද, කයෙහි වූ යම් නොසැපක් වේ ද, කය ස්පර්ශයෙන් හටගත්තා වූ දුකක් වේ ද නොසැප වූ විඳීමක් වේ ද, මෙය දුක යැයි කියනු ලැබේ.

දොම්නස නම් කවරේ ද? සිතෙහි හටගත්තා වූ යම් දුකක් වේ ද, සිතෙහි වූ යම් අමිහිරි බවක් වේ ද, සිතේ ස්පර්ශය නිසා හටගත් යම් දුකක් වේ ද, සැප නොවූ යම් විඳීමක් වේ ද, මෙය දොම්නස යැයි කියනු ලැබේ.

උපායාස නම් කවරේ ද? යම් යම් විපතකින් යුක්ත වූවන්ගේ ද යම් යම් දුකකින් යුක්ත වූවහුගේ ද සිත දැඩි සේ දවා කය දුබල කරනුයේ ද මෙය උපායාස යැයි කියනු ලැබේ.

කැමැති වූ යම් දෙයක් නොලබා ද, ඒ දුක් වන්නේ ය යනු කවරේ ද? ඉපදීම ස්වභාව කොට ඇති සත්වයන්ට මෙබඳු කැමැත්තක් උපදී. කෙසේ ද? අහෝ ! අපි සසර උපදින ස්වභාව නැත්තෝ වෙමු නම්, ඒකාන්තයෙන් සසරෙහි හටගැන්ම අප වෙත නොඑන්නේ නම් ඉතා හොඳ ය යනුවෙනි. මේ කාරණය කැමැත්තෙන්, ආශාවෙන් පැමිණිය හැක්කක් නොවේ. ආශා කරන යමක් නොලැබීම දුකකි. දිරීම් රෝගයන්ගෙන් පෙළෙන ස්වභාවය, මරණය, ශෝකයට පැමිණීමේ ස්වභාවය, දෙම්නසට පැමිණෙන ස්වභාවය, උපායාසයට පැමිණෙන ස්වභාවය ඇති මේ සත්ත්වයන්ට මෙබඳු ආශාවක් උපදී. "අහෝ! අපි මේ දුක් ගොඩට පැමිණෙන ස්වභාව නැත්තෝ වෙමු නම්, ඒකාන්තයෙන් අප වෙත මේවා නොඑන්නේ නම් ඉතා හොඳ ය" කියා යි. මේ කාරණය අපේක්ෂා කිරීමෙන් ලබාගත හැක්කක් නොවේ. මෙසේ ආශා කරන යමක් නොලැබීම දුකකි (දී.නි II, මහාසතිපට්ඨාන සූත්‍රය).

## පංච උපාදනස්කන්ධය

සංක්ෂේපයෙන් පංච උපාදනස්කන්ධ නම් රූප, වේදනා, සංඥා, සංස්කාර සහ විඤ්ඤාණ යන අංග වේ.

අතීත වූ ද, අනාගත වූ ද, වර්තමාන වූ ද, තමා කෙරෙහි වූ හෝ පිටින් වූ හෝ මහත් වූ හෝ, සියුම් වූ හෝ, ලාමක වූ හෝ ප්‍රණීත වූ හෝ, දුර වූ හෝ ළඟ වූ හෝ, යම් කිසි රූපයක් වේ ද, වේදනාවක් වේ ද, සංඥාවක් වේ ද, සංස්කාරයක් වේ ද, විඤ්ඤාණයක් වේ ද, මේවා පිළිවෙළින් රූප ස්කන්ධය, වේදනා ස්කන්ධය, සංඥා ස්කන්ධය, සංස්කාර ස්කන්ධය, විඤ්ඤාණ ස්කන්ධය නම් වේ (ම.නි. III මහාපුණ්ණමසුත්ත).

මේ ස්කන්ධ වනාහි බුදුරජාණන් වහන්සේ විසින් විශේෂයෙන් පෘථග්ජන පුද්ගලයාට ඔහුගේ ආත්මය හෝ පුද්ගලීබව යනුවෙන් පෙනෙන ජීවිත ප්‍රවෘත්තියේ ඇති කායික හා චෛතසික පද්ධති සමුදය එක්තැන් කොට දක්වන ලද පස්වැදෑරුම් බෙදීමකි. එබැවින් ඇත්ත වශයෙන් සකල ලෝකය ම අඩංගු වන මේ පංච උපාදනස්කන්ධයන්ට ඉපදීම, ජරාව හා මරණය ද ඇතුළත් වේ.

## රූප ස්කන්ධය

රූප ස්කන්ධය නම් කවරේ ද? සතර මහා ධාතු හා සතර මහා ධාතුන්ගෙන් සෑදුනා වූ රූප වේ.

සතර මහා ධාතුන් කවරේ ද? පඨවි ධාතුව ද (ඝණ ස්වභාවය), ආපෝ ධාතුව ද (ද්‍රව ස්වභාවය), තේජෝ ධාතුව ද (උණුසුම් ස්වභාවය), වායෝ ධාතුව ද (වායු ස්වභාවය) යන සතර යි.

බහු ජන ව්‍යවහාරයේ පොළොව, ජලය, ගින්දර හා සුළඟ නමින් හැඳින්වෙන මහා ධාතු සතර හෙවත් මූල ධාතු ද්‍රව්‍යත්වයේ

මූලික ස්වභාව වශයෙන් අවබෝධ කරගත යුතු ය. පඨවි ධාතු, ආපෝ ධාතු, තේජෝ ධාතු, වායෝ ධාතු වශයෙන් පාලියේ හැඳින්වෙන මේවා ඝණ බව, ද්‍රව බව, උණුසුම් බව හා වායුව යනුවෙන් අර්ථ ගැන්විය හැක. මූල ධාතු සතර අඩු වැඩි වශයෙන් වෙනස් වෙනස් ප්‍රමාණයන්ගෙන් යුක්ත ව සෑම ද්‍රව්‍යමය වස්තුවකම අඩංගු වේ. උදහරණයක් වශයෙන් ද්‍රව්‍යමය වස්තුවක පඨවි ධාතුව වැඩි වශයෙන් ඇති නම් එය ඝන යැයි කියනු ලැබේ.

මූල ධාතු සතරෙන් ඇති වූ (උපාදය රූප, උපාද රූප) කායිකත්වය අභිධර්මයේ එන පරිදි පහත සඳහන් ද්‍රව්‍යමය පද්ධති විසි හතරෙන් හා එහි ස්වභාවයෙන් යුක්ත ය. ඇස, කන, නාසය, දිව, ශරීරය, රූප, ශබ්ද, ගන්ධ, රස, පුරුෂ භාවය, ස්ත්‍රී භාවය, ජීව රූපය, හෘදය රූපය, කාය විඤ්ඤත්තිය, වචී විඤ්ඤත්තිය, ආකාශ ධාතුව, ලහුතා රූප, මුදුතා රූප, කම්මඤ්ඤතා රූප, උපචය, සන්තති, ජරතා, අනිච්චතා, ආහාර රූපය ඒ විසි හතර යි.

තද බව, සිසිල් බව, උෂ්ණත්වය, වේදනා ආදි ස්පර්ශය වශයෙන් දැනෙන ඝනත්වය, උෂ්ණත්වය, හා වායුව පිළිබඳ මූල ධාතු හා සෑම අතින් සමාන වන බැවින් කායික ස්පර්ශ (පොට්ඨබ්බ) වශයෙන් මේ විසි හතර අතර විශේෂයෙන් සඳහන් වී නැත.

1. පඨවි ධාතුව කවරේ ද? පඨවි ධාතුව ආධ්‍යාත්මික හෝ බාහිර හෝ වන්නේ ය. ආධ්‍යාත්මික වූ පඨවි ධාතුව කවරේ ද? තමා තුළ කර්මානුකූලව ඇති වූ කර්කශ වූ තද වූ කෙස්, ලොම්, නිය, දත්, සම, මස්, නහර, ඇට, ඇට මිදුළු, වකුගඩු, හෘදය මාංසය, අක්මාව, දළබුව, බඩදිව, පපු මස, බඩවැල, නොපැසුණු ආහාර, පැසුණු ආහාර යන සියල්ල ආධ්‍යාත්මික වූ පඨවි ධාතුව යැයි කියනු ලැබේ. යම් ආධ්‍යාත්මික පඨවි ධාතුවක් වේ ද, බාහිර පඨවි ධාතුවක් වේ ද, මේ දෙක ම පඨවි ධාතුව මැ යි. මේ දෙයාකාර පඨවි ධාතුව ම තත් වූ පරිද්දෙන් යහපත් විදර්ශනා නුවණින් දැක මේ මාගේ නොවෙයි. මේ මම නොවෙමි. මේ මාගේ ආත්මය

නොවෙයි. මෙසේ ඇති සැටියෙන් දැක පඨවි ධාතුව කෙරෙහි සිත නොඅලවයි.

2. ආපෝ ධාතුව කවරේ ද? ආපෝ ධාතුව ආධ්‍යාත්මික හෝ බාහිර හෝ වන්නේ ය. ආධ්‍යාත්මික වූ ආපෝ ධාතුව කවරේ ද? යමක් තමා තුළ කර්මානුකූලව ඇති වූ එක්ව පවත්වන්නා වූ දියර ගතිය ඇත්තා වූ පිත, සෙම, සැරව, ලේ, ඩහදිය, මේදය, කඳුළු, මස්තෙල, කෙළ, සොටු, සඳ මිදුලු, මුත්‍ර, යන සියල්ල ආධ්‍යාත්මික ආපෝ ධාතුව යැයි කියනු ලැබේ. යම් ආධ්‍යාත්මික ආපෝ ධාතුවක් වේ ද බාහිර ආපෝ ධාතුවක් වේ ද මේ දෙකම ආපෝ ධාතු ම ය. මේ ආපෝ ධාතුව මගේ නොවෙයි. මම නොවෙමි. මගේ ආත්මය නොවෙයි. මෙය තත් වූ පරිද්දෙන් යහපත් විදර්ශනා නුවණින් දැක ආපෝ ධාතුව කෙරේ සංවේගයට පැමිණේ. ආපෝ ධාතුව කෙරෙහි සිත නොඅලවයි.

3. තේජෝ ධාතුව කවරේද? තේජෝ ධාතුව ආධ්‍යාත්මික හෝ බාහිර හෝ වන්නේය. ආධ්‍යාත්මික තේජෝ ධාතුව කවරේ ද? යමක් තමා තුළ පැවැත්තා වූ කර්මානුකූලව ඇති වූ උණුසුම් ස්වභාවය ලක්‍ෂණ කරගත් යම් තේජෝ ධාතුවක් වේ ද, එනම් කිපුණා වූ යමකින් (උණ රෝග ආදියෙන්) තැවේ ද, යමකින් (මේ ශරීරය) දිරා යා ද, යමකින් දැවේ ද, යමකින් අනුභව කරන ලද බොන ලද, කඩා කන ලද, රස විඳින ලද දේ හොඳින් පැසවීමට යේ ද, මේ සියල්ල ආධ්‍යාත්මික තේජෝ ධාතුව යැයි කියනු ලැබේ. යම් ආධ්‍යාත්මික තේජෝ ධාතුවක් වේ ද බාහිර තේජෝ ධාතුවක් වේ ද මේ දෙක ම තේජෝ ධාතු ම ය. මේ තේජෝ ධාතුව මගේ නොවෙයි. මම නොවෙමි. මගේ ආත්මය නොවෙයි. මෙසේ මෙය ඇති සැටියෙන් යහපත් විදර්ශනා නුවණින් දත යුතු ය. දැක තේජෝ ධාතුව කෙරෙහි සංවේගයට පැමිණ සිත නොඅලවයි.

4. වායෝ ධාතුව කවරේ ද? වායෝ ධාතුව ආධ්‍යාත්මික හෝ බාහිර හෝ වන්නේ ය. ආධ්‍යාත්මික වායෝ ධාතුව කවරේ ද? යම් වායෝ ධාතුවක් කර්මානුකූලව ඇති වී තමා තුළ පවත්නේ ද,

එනම් උඩට නඟින වාතය ද, පහළට බස්නා වාතය ද, බඩවැලෙන් පිටත පවත්නා වාතය ද, බඩවැල ඇතුළත පවත්නා වාතය ද, ශරීරයෙහි අවයව ක්‍රියා කරවන වාතය ද, ආශ්වාස වාතය ද, ප්‍රශ්වාස වාතය ද, මෙයින් අන්‍ය වූ යම් වායුවක් තමා තුළ පවත්නේ ද මේ සියල්ල ආධ්‍යාත්මික වායෝ ධාතුව නම් වේ. යම් ආධ්‍යාත්මික වායෝ ධාතුවක් වේ ද, යම් බාහිර වායෝ ධාතුවක් වේ ද, මේ දෙක ම වායෝ ධාතු ම ය. ඒ මේ වායෝ ධාතුව මගේ නොවෙයි. මම නොවෙමි. මගේ ආත්මය නොවෙයි. මෙසේ ඇති සැටියෙන් යහපත් විදර්ශනා නුවණින් දැක වායෝ ධාතුව කෙරේ සංවේගයට පැමිණෙයි. වායෝ ධාතුව කෙරේ සිත නොඅලවයි.

යම් සේ මැටි, දැවපත්, බට යනාදියෙන් වට කරන ලද අවකාශ ස්ථානයට පැල යන නම ව්‍යවහාර කෙරේ ද, එමෙන් ම ඇට, මස්, ලේ, නහර ආදියෙන් වට වූ දෙයට ශරීරය යැයි අපි ව්‍යවහාර කරමු.

### වේදනා ස්කන්ධය

වේදනා තුනකි. සැප, දුක්, උපේක්ෂා (සුඛ, දුක්ඛ, අදුක්ඛමසුඛ) යන මේ තුන යි. (ස.නි iv, වේදනා සංයුත්ත, සමාධි සුත්ත).

### සංඥා ස්කන්ධය

සංඥා නම් කවරේ ද? සංඥා සයකි. රූප සංඥාව, ශබ්ද සංඥාව, ගන්ධ සංඥාව, රස සංඥාව, ස්පර්ශ සංඥාව, ධම්ම සංඥාව යනු යි (ස.නි iii, උපාදාන පරිවත්ත සුත්ත).

### සංස්කාර ස්කන්ධය

සංස්කාර කවරේ ද? චේතනා සයකි. රූප චේතනා, ශබ්ද චේතනා, ගන්ධ චේතනා, රස චේතනා, ස්පර්ශ චේතනා, ධම්ම

චේතනා. මේවා සංස්කාර යැයි කියනු ලැබේ. (ස.නි. iii, උපාදාන පරිවත්ත සුත්ත).

සංස්කාර ස්කන්ධය වනාහි වේදනා හා සංඥාවලට අතිරේක වශයෙන් එක් චිත්තක්ෂණයක දක්නට ලැබෙන නොයෙක් ක්‍රියාකාරිත්වයෙන් නොහොත් මනෝ ක්‍රියා අංශ හැඳින්වීමට දෙන ලද පදයකි. අභිධර්මයේ සංස්කාර පණසක් හඳුන්වා දී ඇත. ඉන් හතක් සර්ව සාධාරණ සංස්කාර වේ. විඤ්ඤාණ ස්කන්ධ මාර්ගයේ ලක්ෂණයන්ට අනුව ඉතිරි සංස්කාර ස්කන්ධයන්ගේ සංඛ්‍යාව නිර්මාණය වෙනස් වේ. සම්‍යක්දෘෂ්ටිය පිළිබඳ කරන ලද දේශනාවෙහි සංස්කාර ස්කන්ධයෙහි චේතනා, ස්පර්ශ හා මනසිකාර වශයෙන් ප්‍රධාන සංස්කාර අංගය වූ චේතනාව විශේෂයෙන් ම සංස්කාර ස්කන්ධයකට අයත් ලක්ෂණයක් වේ. එබැවින් ඉහත සඳහන් ඡේදය සංස්කාරය පැහැදිලි කිරීමට උපස්තම්භක වේ. (ම.නි. I, සම්මාදිට්ඨි සුත්ත).

විඤ්ඤාණ ස්කන්ධය

විඤ්ඤාණය කවරේ ද? විඤ්ඤාණ සයක් වේ. චක්ඛු විඤ්ඤාණය, සෝත විඤ්ඤාණය, ඝාණ විඤ්ඤාණය, ජිව්හා විඤ්ඤාණය, කාය විඤ්ඤාණය, මනෝ විඤ්ඤාණය යන මේ සය යි (ස.නි. iii, උපාදාන පරිවත්ත සුත්ත).

පටිච්ච සමුප්පාද විඤ්ඤාණය

යම් හෙයකින් ආධ්‍යාත්මික වූ චක්ඛු ප්‍රසාදය නොබිඳුණේ වේ ද, බාහිර වූ රූප ඇස හමුවට පැමිණේ ද, ඊට අනුකූල වූ මෙනෙහි කිරීම් නැත්තේ වේ ද ඒ තාක් එයට අනුකූල වූ විඤ්ඤාණයේ පහළ වීම නොවෙයි. ආධ්‍යාත්මික වූ චක්ඛු ප්‍රසාදය නොබිඳුණේ වේ ද, බාහිර රූප ඇස හමුවට පැමිණේ ද ඊට අනුකූල වූ මෙනෙහි කිරීම් නැත්තේ වේ ද, ඒ තාක් ඊට අනුරූප වූ විඤ්ඤාණ

කොට්ඨාසයාගේ පහළ වීම නොවෙයි. යම් හෙයකින් ආධ්‍යාත්මික වූ චක්ඛු ප්‍රසාදය නොබිඳුණේ වේ ද, බාහිර වූ රූප ඇස හමුවට පැමිණේද, ඊට අනුකූල වූ මෙනෙහි කිරීම් ඇත්තේ වේ ද, ඒ තාක් ඊට අනුකූල වූ විඤ්ඤාණ කොට්ඨාසයාගේ පහළ වීම වෙයි. මහණෙනි, ඔබට මා විසින් නොයෙක් ක්‍රමයෙන් විඤ්ඤාණය ප්‍රත්‍යයෙන් උපන්නේ යැයි ද, ප්‍රත්‍යයෙන් තොරව විඤ්ඤාණයාගේ හටගැන්මක් නැතැයි ද කියන ලදි (ම.නි. I, මහාහත්ථිපදෝපම සුත්ත).

යම් ප්‍රත්‍යයක් නිසා විඤ්ඤාණය උපදී ද, ඒ ඒ ප්‍රත්‍යයාගේ විඤ්ඤාණය යයි ව්‍යවහාරයට ගැනේ, ඇස හා රූප නිසා යම් විඤ්ඤාණයක් උපදී ද එය චක්ඛු විඤ්ඤාණය යැයි ව්‍යවහාරයට ගැනේ. කන හා ශබ්ද නිසා යම් විඤ්ඤාණයක් උපදී ද, එය ශ්‍රෝත විඤ්ඤාණය යැයි ව්‍යවහාරයට ගැනේ. නාසය හා ගඳ නිසා යම් විඤ්ඤාණයක් උපදී ද, එය ඝාණ විඤ්ඤාණය යැයි ව්‍යවහාරයට ගැනේ. දිව හා රස නිසා යම් විඤ්ඤාණයක් උපදී ද, එය ජිව්හා විඤ්ඤාණය යැයි ව්‍යවහාරයට ගැනේ. කය හා ස්පර්ශය නිසා යම් විඤ්ඤාණයක් උපදී ද, එය කාය විඤ්ඤාණය යැයි ව්‍යවහාරයට ගැනේ. මනස හා ධර්ම නිසා යම් විඤ්ඤාණයක් උපදී ද, එය මනෝ විඤ්ඤාණය යැයි ව්‍යවහාරයට ගැනේ. (ම.නි. I, මහාහත්ථිපදෝපම සුත්ත).

ඒ විඤ්ඤාණය නිසා ඇති වූ යම් කිසි රූපයක් වේ ද ඒ රූප උපාදන ස්කන්ධයෙහි ඇතුළත්වේ. ඒ නිසා ඇති වූ යම් වේදනාවක් වේ ද, ඒ වේදනා උපාදන ස්කන්ධයෙහි ඇතුළත් වේ. ඒ නිසා ඇති වූ යම් සංඥාවක් වේද, එය සංඥා උපාදන ස්කන්ධයේ ඇතුළත් වේ. ඒ නිසා ඇති වූ යම් සංස්කාරයක් වේ ද එය සංස්කාර උපාදන ස්කන්ධයෙහි ඇතුළත් වේ. ඒ නිසා ඇති වූ යම් මනෝ විඤ්ඤාණයක් වේද එය විඤ්ඤාණ උපාදන ස්කන්ධයෙහි ඇතුළත් වේ (ම.නි. I, මහාතණ්හාසංඛය සුත්ත).

විඤ්ඤාණ ස්කන්ධ ඉතිරි ස්කන්ධ සතර හේතු කොටගෙන පවතියි. රූප, වේදනා, සංඥා, සංස්කාරයන්ගේ සම්බන්ධයක් නොමැතිව විඤ්ඤාණයාගේ පැවැත්ම, වැඩීම හා දියුණුව හෝ එක් භවයකින් චුත වීම හෝ වෙනත් භවයකට ඇතුළුවීම හෝ විස්තර කිරීමට නොහැකි ය (ස.නි. iii, උපය වග්ග, උපය සුත්ත).

## ත්‍රිලක්ෂණය

සියලු සංස්කාර අනිත්‍ය වෙයි. සියලු සංස්කාර දුක වෙයි. සියලු සංස්කාර අනාත්ම වෙයි (අ.නි. I, යෝධාජීව වග්ග, චතුත්ථ සුත්ත).

රූපය අනිත්‍ය ය. වේදනා අනිත්‍ය ය. සංඥා අනිත්‍ය ය. සංස්කාර අනිත්‍ය ය. විඤ්ඤාණය අනිත්‍ය ය. යමක් අනිත්‍ය ද එය දුක ය. යමක් දුක ද එය අනාත්ම ය. යමක් අනිත්‍ය ද දුක ද, අනාත්ම ද එය මාගේ යැයි, එය මම යැයි, එය මාගේ ආත්මය යැයි, කිව නොහැකිය. මෙසේ වූ මෙය තත් වූ පරිදි නිවැරදි ප්‍රඥාවෙන් දත යුතුය. අතීත වූ හෝ වර්මාන වූ හෝ අනාගත වූ හෝ ආධ්‍යාත්මික වූ හෝ බාහිර වූ ගොරෝසු වූ හෝ සියුම් වූ හෝ හීන වූ හෝ උතුම් වූ හෝ දුර වූ හෝ නුදුරු වූ හෝ යම් කිසි රූපයක් වේ ද, යම් කිසි සංඥාවක් වේ ද යම් කිසි සංස්කාරයක් වේ ද, යම් කිසි විඤ්ඤාණයක් වේ ද, ඒ සියල්ල මාගේ නොවේ ය. මම නොවෙමි. මාගේ ආත්මය ද නොවෙයි කියා තත් වූ පරිද්දෙන් මනා නුවණින් දත යුතුය (ස.නි. iii, උපය වග්ග, පංචවග්ගිය සුත්ත).

## අනාත්ම ධර්මය

පුද්ගලයාගේ පමණක් නොව සකල ලෝකයේ ම පැවැත්ම යථාර්ථයෙන් ගන්නා කල එය වනාහි පංචස්කන්ධය තුළ ම මුළුමනින් පවත්නා සදාතන විපරිණාම ධර්මයේ ක්‍රියා පද්ධතියක් පමණකි. මේ ක්‍රියා පද්ධතිය කෙනකුගේ උත්පත්තියට පෙර

අනාදිමත් කාලයක් පටන් සිදු වී ඇත. එමෙන්ම හේතු ප්‍රත්‍යය ඇති තෙක් එය කෙනෙකුගේ මරණයෙන් පසු ද අසීමිත කාල පරිච්ඡේදයක් තුළ දිගට ම සිදු වන්නේ ය. ඉහත සඳහන් පරිදි පිටක ග්‍රන්ථවල කියන ලද පංචස්කන්ධය වෙන් වෙන් වශයෙන් හෝ සාමූහික ව හෝ ගත් කල 'මම'යි කියා හෝ සත්වයකු යැයි කියා හෝ ගත හැකි කිසිවක් නැත. එසේ ම පළමුව කී ස්කන්ධයන්ගෙන් බාහිර ව ඒවා අයිති 'හිමිකරුවකු' වශයෙන් කිසි යම් සත්ත්වයකු හෝ කිසි යම් ආත්මයක් හෝ කිසි යම් ද්‍රව්‍යයක් හෝ නැත. වෙනත් වචනවලින් කිවහොත් පංචස්කන්ධය ආත්මය ද නොවේ. (අනත්තා) ආත්මයකට අයිති ද නොවේ. (අනත්ත නිසා) සියලු දෙයෙහි ම පවතින අනිත්‍යතාව යන හේතුඵල නියාමය සලකා බලන කල්හි මෙබඳු ආත්මයක් පිළිබඳ වූ විශ්වාසය මායාවක් ලෙස සැලකිය යුතු ය.

යම් සේ අප 'රථය' යැයි ගන්නා දේම වියදණ්ඩ, රෝද, අඹරාව ආදියෙන් පිට පැවැත්මක් නැත්තා සේ ද, භූමි භාගයක් ආවරණය වන ලෙස එක්තරා ආකාරයකට රැස් කර තැබූ නොයෙක් ද්‍රව්‍ය සම්භාරයකට පහසුව සඳහා 'ගෘහය' යන වචනය යෙදූ නමුත් 'ගෘහය' යයි කීමට වෙන් ව ඇති යම් කිසි එක දෙයක් නැත්තා සේ ද අප 'සත්ත්වයා' හෝ 'පුද්ගලයා' හෝ 'කෙනෙක්' හෝ 'මම' යැයි හෝ ගන්නා දේ නිතර වෙනස් වෙමින් පවතින නාමරූප ස්කන්ධ මිස ඇත්ත වශයෙන් පවතින්නක් නොවේ.

මේ වනාහි සංක්ෂේප වශයෙන් සෑම පැවැත්මක් ම සදාතන ආත්මයකින් හෝ ද්‍රව්‍යයකින් හෝ තොර ශූන්‍ය දෙයකැ'යි උගන්වන බුදුරජාණන් වහන්සේගේ අනාත්ම ධර්මය යි. මෙය වනාහි වෙනත් ආගමික ඉගැන්වීමක හෝ දර්ශන ක්‍රමයක හෝ දක්නට නොලැබෙන මූලික බුද්ධ ධර්මය යි. බුද්ධ ධර්මය නියම වශයෙන් තේරුම්ගැනීමට හා එහි පරමාර්ථය ඉටු කරගැනීමට නම් එය සංකල්ප වශයෙන් හා බුද්ධිමත් අන්දමින් පමණක් නොව සත්‍ය වූ අත්දැකීමට නිතර සම්බන්ධ කරමින් අවබෝධ කරගැනීම අත්‍යවශ්‍ය ය. මෙහි ඇතුළත් පාඨයන්ගෙන් ඉතා ම අල්පමාත්‍රයක් පමණක් දැක්විය හැකි ස්කන්ධ ධර්මය මගින් යථා ස්වභාවය

මුළුමනින් විග්‍රහ කිරීමේ දී අනාත්ම ධර්මය අවශ්‍යයෙන්ම ලැබෙන ප්‍රතිඵලය වේ.

යම් සේ වර්ෂා කාලයෙහි මහ වැසි පොද සහිත ව වැසි වසින කල්හි දිය බුබුළු ඇතිවේ ද නැතිවේ ද ඇස් ඇති පුරුෂයෙක් ඒ දිය බුබුළු දක්නේ ද බලන්නේ ද, නුවණින් නැවත නැවත පරීක්‍ෂා කරන්නේ ද පරීක්‍ෂා කරන්නා වූ ඒ පුරුෂයා හට ඒ දිය බුබුළ හිස් වූවකැයි, ශූන්‍ය වූවකැයි, හර නැත්තෙකැයි ම වැටහෙන්නේ ය. එපරිද්දෙන් ම අතීත වූ හෝ අනාගත වූ හෝ වර්තමාන වූ හෝ දුර වූ හෝ ළඟ වූ හෝ යම් රූපයක් වේ ද වේදනාවක් වේ ද සංඥාවක් වේ ද සංස්කාරයක් වේ ද විඥ්ඤාණයක් වේ ද ඒ සියල්ල දකියි. බලයි. නුවණින් නැවත නැවත පරීක්‍ෂා කර බලයි. නුවණින් නැවත නැවත පරීක්‍ෂා කරන්නා වූ ඔහුට ඒ සියල්ල හිස් වූවක් මැයි, ශූන්‍ය වූවක් මැයි, අනාත්ම වූවක් මැයි වැටහෙන්නේ ය (ස.නි. iii, ඵේණපිණ්ඩූපම සුත්ත).

යමෙක් රූප, වේදනා, සංඥා, සංස්කාර, විඥ්ඤාණ යන ස්කන්ධයන්හි ඇලේ නම් හෙතෙම දුකෙහි ඇලෙන්නේ ය. යමෙක් දුකෙහි ඇලේ නම් හෙතෙම දුකින් නොමිදුණේ යැයි කියයි (ස.නි. iii, අභිනන්දන සුත්ත).

මිනිසා රාගාදි වූ එකොළොස් ගින්නකින් නිතර ඇවිළගෙන දැවෙද්දී කවර සිනාවක් ද? කවර සතුටක් ද? අවිද්‍යා නමැති අඳුරෙන් වැලඳගන්නා ලද ඔබ මාර්ග ඵල ප්‍රඥා නමැති එළිය කුමක් හෙයින් නොසොයන්නහු ද?

යම් මේ සිරුරක නිත්‍ය පැවැත්මක් නැතිද මාංශ සමූහය වූ ද ඇට කටුවලින් ගළපා සිටුවන ලද්ද වූ ද ගිලන් වන්නා වූ ද බොහෝ දෙනා විසින් සුභ යැයි, සුබ යැයි සිතන ලද්ද වූ ද අබරණින් විසිතුරු කරන ලද්ද වූ මේ සිරුර දෙස බලව.

මේ රූපය දිරායාම ස්වභාව කොට ඇත. එය රෝගයන්ට නිවාසස්ථානයක් වන කුඩුවක් බඳු ය. එය වහා නැසෙන සුලු ය.

කුණු වැගිරෙන මේ කය නොබෝ කලකින් බිඳෙන්නේ ය. විනාශ වන්නේය. ජීවිතය මරණය කෙළවර කොට ඇති දෙයකි. (ධම්මපදය)

## පූර්ව නිමිති

ඔබ මනුෂ්‍යයන් අතර වයසෙන් අසූ වසක් වූ හෝ අනූ වසක් වූ හෝ සිය වසක් වූ හෝ ජරාවට ගියා වූ දිරාපත් වහලක් සේ වක් වූ හා මැදින් නැමුණා වූ, සැරයටිය පිහිට කොට යන්නා වූ, වෙව්ලමින් යන්නා වූ, ජරාවෙන් ආතුර වූ, ඉක්ම ගිය තරුණ වයස් ඇත්තා වූ, වැටුණා වූ දත් ඇත්තා වූ, පැසුණු කෙස් ඇත්තා වූ, ඉදිරී ගිය කෙස් ඇත්තා වූ, මුඩු වූ හිස් ඇත්තා වූ ඇඟ රැළි වැටුණා වූ, පැල්ලම් සහිත සිරුර ඇත්තා වූ, ස්ත්‍රියක හෝ පුරුෂයකු හෝ නොදුටුවහු ද? මෙසේ සිතක් නොවී ද? "මම ද ජරාව ස්වභාව කොට ඇත්තෙක්මි. ජරාව නොයික්මවූවෙක් වෙමි." කිමෙක් ද? ඔබ මනුෂ්‍යයන් අතරෙහි ව්‍යාධියෙන් පීඩිත වූ දුකට පැමිණියා වූ, දැඩි ගිලන් බව ඇත්තා වූ, ස්වකීය මල මූත්‍රයෙහි හෝනා වූ අන්‍යයන් විසින් නැඟිටවනු ලබන්නා වූ, අනුන් විසින් නිඳි කරනු ලබන්නා වූ ස්ත්‍රියක හෝ පුරුෂයකු හෝ නොදුටුවහු ද? මෙසේ සිතක් නොවී ද? "මම ද ව්‍යාධිය ස්වභාව කොට ඇත්තෙක් වෙමි. ව්‍යාධිය නොඉක්මවූවෙක් වෙමි." තව ද නුඹලා මනුෂ්‍යයන් අතුරෙහි මැරී එක් දවසක් ගිය, මැරී දෙදවසක් ගිය, මැරී තුන් දවසක් ගිය, ඉදිමුණු නිල් වූ, විශේෂයෙන් කුණප වැගිරෙන ස්ත්‍රියක හෝ පුරුෂයකු හෝ නොදුටුවහු ද? මෙසේ සිතක් නොවී ද? "මමද මරණය ස්වභාවය කොට ඇත්තෙමි. මරණය නොඉක්මවූවෙක් වෙමි" (අ.නි. I, දේවදූත වග්ග, සත්තම සුත්ත).

## සංසාරය

මහණෙනි, මේ සංසාරය නොදක්නා ලද අග ඇත්තේ ය. අවිද්‍යාවෙන් වැසී, තණ්හාවෙන් බැඳී සැරිසරන්නා වූ සත්ත්වයන්ගේ මුල් කොනක් නොපෙනේ (ස.නි. ii, අස්සු සුත්ත).

සංසාරය හෙවත් භව චක්‍රය නොහොත් 'සදතනික ගමන' වනාහි නිරන්තර ව නැවත නැවත ඉපදීම, ජරාව, දුක, මරණය ආදියට පැමිණීම ස්වභාවකොට ඇති අඛණ්ඩ වූ ප්‍රවෘත්තියක සංචේතනය වන, නිරතුරු අවිවේකීව නගිමින් බසිමින් පවත්නා ජීවිත සයුර හඳුනාගැනීමට පාලි ධර්ම ග්‍රන්ථවල දෙන ලද නමකි. වඩාත් පැහැදිලි ලෙස දක්වතොත් සංසාරය යනු සිතිය නොහැකි තරම් වූ කාලාන්තරයක් තුළ එකිනෙක අනුව යමින් ක්‍ෂණයක් පාසා වෙනස් වෙමින් පවත්නා පංචස්කන්ධයන්ගේ අඛණ්ඩ වූ පැවැත්මයි. එක් ජීවිත කාලයක් මේ සංසාරයේ අල්ප මාත්‍රයක් පමණි. එබැවින් පළමුවැනි ආර්ය සත්‍යය අවබෝධ කරගැනීම පිණිස කෙනකු ඇතැම් විට එතරම් දුක් සහිත නොවූ එක් ආත්ම භාවයක් ගැනම පමණක් නැතිව මුළු සංසාර ප්‍රවෘත්තිය ගැන ම, මේ බියකරු උත්පත්ති මරණ පරම්පරාව ගැන ම භාවනානුයෝගීව මෙනෙහි කළ යුතු ය.

එහෙයින් පළමුවැනි ආර්ය සත්‍යයෙහි දුක (දුක්ඛ) යනුවෙන් හැඳින්වෙන්නේ ප්‍රිය නොවන වින්දනයන් නිසා ඇති වන කායික හා චෛතසික දුක් වේදනා පමණක් නොව, ඊට අතිරේක ව දුක ඇති කරන්නා වූ හෝ දුකට නැඹුරු වූ සැම දෙයක් ම එයින් අදහස්වේ. අනිත්‍යතාව නමැති විශ්ව නියාම ධර්මය හේතු කොටගෙන උසස් වූ ද අති උදාර වූ ද සුඛෝපභෝගී තත්ත්වයන් පවා වෙනස් වීම හා විනාශ වීම ස්වභාවයකොට ඇති බවද, ඒ නිසා ම සැමවිට දුක පිළිබඳ බීජය ඇතුළත් වන මේ සැම ආත්ම භාවයක් ම අතෘප්තිකර බව ද දුක්ඛ සත්‍යය යටතේ උගන්වනු ලැබේ.

මේ දීර්ඝ සංසාරයෙහි නුඹලා කුමක් අධික යැයි සිතන්නහු ද? මේ සංසාරයෙහි ඇවිදින්නා වූ සැරිසරන්නා වූ මේ දීර්ඝ කාලය තුළ අප්‍රියයන් හා එක් විමෙන්ද, ප්‍රියයන්ගෙන් වෙන් වීමෙන් ද, අඬන්නා වූ වැලපෙන්නා වූ නුඹලා වැගුරූ යම් කඳුළක් වේ ද එය ද? නැතහොත් සතර මහා සාගරයෙහි දිය ද? නුඹලා විසින් මවගේ ද පියාගේ ද සහෝදරයන්ගේ ද සහෝදරියන්ගේ ද පුත්‍රයන්ගේ ද දියණියන්ගේ ද මරණයෙන් බොහෝ දුක් වේදනා විඳ තිබේ. එසේ ඇඬූ, වැලපුණු නුඹලා සතර මහා සාගරයේ ජලයට වඩා කඳුළු වගුරා තිබේ. (ස.නි. ii, අස්සු සුත්ත).

මේ දීර්ඝ සංසාරයෙහි නුඹලා කුමක් අධික යැයි සිතන්නහු ද? ඇවිදින්නා වූ සැරිසරන්නා වූ නුඹලාගේ හිස් සිඳීමෙන් ගැලූ වැගුරුණු යම් ලෙයක් වේ ද, එයම ද? නැතහොත් සතර මහා සාගරයේ දිය ද? මේ සසර සැරිසැරිමේ දී ගම් පහරන සොරුන් යැයි, මංකොල්ල කාරයන් යැයි. අන් අඹුවන් සේවනය කරන්නේ යැයි අල්වාගන්නා ලද නුඹලාගෙ හිස් සිඳීමෙන් වැගුරුණු යම් ලෙයක් වේ ද, එය ම සතර මහා සාගරයේ දියට වඩා අධික ය.

මෙය කෙසේ විය හැකි ද? මේ සංසාරය නොදක්නා ලද අග ඇත්තේ ය. අවිද්‍යාවෙන් වැසී තණ්හාවෙන් බැඳී සැරිසරන්නා වූ සත්ත්වයන්ගේ මුල් කොනක් නොපෙනේ. (ස.නි. ii, තිංසමත්ත සුත්ත)

මෙසේ මේ සියලු සංස්කාරයන් කෙරෙහි කලකිරීමට සුදුසු තරම්, නොඇලීමට සුදුසු තරම්, එයින් මිදීමට සුදුසු යැයි හැඟෙන තරම්, දුක් විඳින ලදි. දැඩි දුක් විඳින ලදි. ව්‍යසනයන්ට පත්වන ලදි. සොහොන් බිම් තර කරන ලදි. (ස.නි. ii, තිණකට්ඨ සුත්ත)

# දෙවැනි ආර්ය සත්‍යය

# දුක්ඛ සමුදය ආර්ය සත්‍යය

දුක හටගැනීමට හේතුව කවරේ ද? නැවත නැවත සත්වයාගේ ඉපදීම ඇති කරන්නා වූ ඇලීම් සහගත වූ ඒ ඒ උපන් ආත්ම භාවයේ දී ඇලෙන්නා වූ යම් තණ්හාවක් වේ ද එය දුක හටගැනීමට හේතුව වේ (ස.නි V, ධම්මචක්කප්පවත්තන සුත්ත).

## තුන් ආකාර තණ්හාව

කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා යැයි මේ තණ්හාව තුන් ආකාර වේ. කාම තණ්හාව යනු පංචේන්ද්‍රියන් පිනවීමට ඇති ආශාව යි. (දී.නි ii, මහා සතිපට්ඨාන සුත්ත)

භව තණ්හාව වනාහි විශේෂයෙන් රූප භව හා අරූප භව වැනි උසස් භවයන්හි අඛණ්ඩ හෝ සදාතන ජීවිතයකට කරන ආශාව යි. එය ශාශ්වත දෘෂ්ටියට (භව හෝ සස්සත දිට්ඨියට) ඉතා කිට්ටු සම්බන්ධයක් ඇත. එනම් අපගේ කයෙන් නිදහස් ව අඛණ්ඩ ව පවතින ඒකාන්ත සදාතන ආත්මයක් ගැන ඇති විශ්වාසයයි.

විභව තණ්හාව වනාහි විභවය හෙවත් උච්ඡේද දෘෂ්ටියේ ප්‍රතිඵලයකි. එනම් මරණයේ දී ශූන්‍ය වන, මරණයට පෙර හා පසු කාලය හා හේතු සම්බන්ධයක් නැති, සමහර විට ඇත්ත යැයි කිවහැකි තරම් වූ ආත්මයක් පිළිබඳ වූ මිථ්‍යා භෞතික විශ්වාසය යි.

## තණ්හා හේතුව

මේ තණ්හාව කවර තැනෙක්හි ඇතිවේ ද? කවර තැනෙක්හි පවතී ද? ලෝකයෙහි යමක් ප්‍රිය ස්වභාවයක් ඇත්තේ ද, සැප ස්වභාවයක් ඇත්තේ ද, එහි මේ තණ්හාව ඇතිවේ. එහි මේ තණ්හාව ඇතිව පවති. ලෝකයෙහි ඇස, කන, නාසය, දිව, ශරීරය,

සිත යන මේවා ප්‍රිය ස්වභාවය ඇත්තේ ය. සැප ස්වභාවය ඇත්තේ ය. මේ තණ්හාව එහි ඇතිවේ. මේ තණ්හාව එහි පවති. (දී.නි. II මහාසතිපට්ඨාන සූත්ත)

ලෝකයෙහි රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම යන මේවා ප්‍රිය ස්වභාවය ඇත්තේය. සැප ස්වභාවය ඇත්තේ ය. මේ තණ්හාව එහි ඇතිව එහි ම පවතී. මේ දුක්ඛ සමුදය නම් වූ ආර්ය සත්‍යය යැයි.

සියලු ධර්මයන්ගේ හේතු ප්‍රත්‍යතාව

යමක් වනාහි ඇසින් බලා දත යුතු වූ, කනින් අසා දත යුතු වූ, නාසයෙන් විඳ දත යුතු වූ, දිවෙන් විඳ දත යුතු වූ, කයෙන් විඳ දත යුතු වූ හා සිතින් ඇති වන්නා වූ, යහපත් වූ, මන වඩන්නා වූ, ප්‍රිය ස්වභාවයක් ඇති රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ යන ආරම්මණයන් කෙරෙහි ඇලෙයි. අප්‍රිය ස්වභාවය ඇති අරමුණෙහි නොසතුටට පැමිණෙයි. හෙතෙම මෙසේ රාග, ද්වේෂ දෙකට පැමිණියේ සැප වූ ද දුක් වූ ද උපේක්ෂා සහගත වූ ද යම්කිසි වේදනාවක් විඳී ද, ඒ වේදනාව තෘෂ්ණාව වශයෙන් ගෙන සතුටු වෙයි. තෘෂ්ණාව වශයෙන් ගෙන සැප යැයි කියයි. තෘෂ්ණාවෙන් ගැලී සිටී. ගැලී සිටින්නා වූ ඔහුට තෘෂ්ණාව උපදී. වේදනාවන් කෙරේ යම් තෘෂ්ණාවක් වේ ද එය උපාදනය යි. ඔහුට උපාදනය ප්‍රත්‍යයෙන් භවය (මෙහි දී කර්ම භවය) වෙයි. කර්ම භවය ප්‍රත්‍යකොට ජාතිය වෙයි. ජාතිය ප්‍රත්‍යකොට ජරාව, මරණය, ශෝකය, වැලපීම, කයෙහි දුක, සිතෙහි දුක, දැඩි ආයාසය යන මේවා ඇති වෙයි. මෙසේ මේ සියලු දුක් රාශියගේ ඇතිවීම වෙයි. (ම.නි. I, මහාතණ්හා සංඛය සූත්ත).

පුරුක් වශයෙන් පිරිද්දෙන කරුණු දොළසකින් ඉහත දැක්වෙන පාඨයෙහි සමහරක් පමණක් සඳහන් වූ පටිච්ච සමුප්පාද ධර්මය හේතුඵල වාදය  සත්‍ය පිළිබඳ විග්‍රහයක් වශයෙන් සැලකිය හැක.

## වර්තමාන කර්ම විපාක

කාමය හේතු කොට, කාමය මුල් කරුණකොට, කාමය කරන කොටගෙන, කාමය නිසා රජවරු රජවරුන් සමඟ කලහ කරති. රජකුමරහු රජකුමරුන් සමඟ කලහ කරති. බමුණෝ බමුණන් සමඟ කලහ කරති. ගෘහපතියෝ ගෘහපතියන් සමඟ කලහ කරති. මව පුතා සමඟ කලහ කරයි. පුතා මව සමඟ කලහ කරයි. පියා පුතා සමඟ කලහ කරයි. පුතා පියා සමඟ කලහ කරයි. සහෝදරයා සහෝදරයා සමඟ කලහ කරයි. සහෝදරයා සහෝදරිය සමඟ කලහ කරයි. සහෝදරිය සහෝදරයා සමග කලහ කරන්නීය. යාළුවා යාළුවා සමඟ කලහ කරයි. ඔවුහු කෝලාහල, විරුද්ධකම්, විවාද ආදියට පැමිණි එකිනෙකාට අතින් ද පහර දෙති. කැට කැබලිතිවලින් ද පහර දෙති. පොලුවලින් ද ආයුධවලින් ද පහර දෙති. ඔවුහු එයින් මරණයට ද පැමිණෙති. මරණ සමාන දුකට ද පැමිණෙති.

## අනාගත කර්ම විපාක

තව ද කාමය හේතු කොට, කාමය මුල් කරුණ කොට, කාමය කරණ කොටගෙන, කාමය නිසා කයෙන් දුසිරිතෙහි හැසිරෙති. වචනයෙන් දුසිරිතෙහි හැසිරෙති. සිතෙන් දුසිරිතෙහි හැසිරෙති. ඔවුහු කයෙන්, වචනයෙන්, සිතෙන් දුසිරිතෙහි හැසිර ශරීරයාගේ බිඳීමෙන් මරණින් මත්තෙහි සැපයෙන් පහ වූ නපුරු ගති ඇති නපුරු වැටීමක් ඇති නිරයෙහි උපදිති. මේ කාමය හේතු කොට කාමය මුල් කරුණ කොට, කාමය කරණ කොටගෙන, කාමය නිසා පරලොව වින්ද යුතු ආදීනව රාශිය හා දුක් රාශිය වන්නේ ය.

යම් තැනක සිට පවේ විපාකයෙන් මිදිය හැකි ද? එබඳු තැනක් අහසෙහිත් නැත. මුහුද මැදත් නැත. පර්වත කුහරයකත් නැත. එබඳු බිම් පෙදෙසක් කොහේ වත් ඇත්තේ නැත. (ධම්මපද)

## චේතනාව වූ කර්මය

මහණෙනි, චේතනාව කර්මය යැයි මම කියමි. යම් අයෙක් කැමැත්තෙන් කයෙන් හෝ වචනයෙන් හෝ සිතින් හෝ කර්මයක් කරයි. එවිට නිරයෙහි විඳිය යුතු වූ කර්මයක් ඇත. තිරිසන් ජාතියෙහි විඳිය යුතු වූ කර්මයක් ඇත. ප්‍රේත ලෝකයෙහි විඳිය යුතු වූ කර්මයක් ඇත. මිනිස් ලොව විඳිය යුතු වූ කර්මයක් ඇත. දෙව්ලොව විඳිය යුතු වූ කර්මයක් ඇත. කර්මයන්ගේ විපාකය ත්‍රිවිධ යැයි කියමි. මේ ලෝකයෙහි හෝ ඊළඟ ආත්මයෙහි හෝ භවයෙන් භවයෙහි හෝ විපාක දෙන කර්ම කියා ය. (අ.නි.iv, නිබ්බේධික සුත්ත)

## කර්ම දායාදය

සියලු සත්වයෝ කර්මය ස්වකීය කොට ඇත්තෝ වෙති. කර්මය දයාද කොට ඇත්තෝ වෙති. කර්මයෙන් උපදින්නෝ වෙති. කර්මය නෑයන් කොට ඇත්තෝ වෙති. කර්මය පිළිසරණ කොට ඇත්තෝ වෙති. යහපත් හෝ අයහපත් යම් කර්මයක් කරන්නෝ ද ඊට උරුම වූවෝ වෙති. (අ.නි. iv, පඨම සංචේතනික සුත්ත)

යම් තැනෙක්හි සත්වයෝ උපදිත් ද? එහි දී ඒ කර්ම විපාක දෙයි. යම් තැනෙක්හි ඒ කර්ම විපාක මෝරයි ද, දෙයි ද එය මේ ආත්ම භවයෙහි හෝ ඊළඟ ආත්ම භවයෙහි හෝ අනෙක් අනාගත භවයක හෝ කර්මඵල විඳිති. (අ.නි. I, දේවදූත වග්ග, චතුත්ථ සුත්ත)

යම් කලෙක මහ මුහුද සිඳෙන්නේ ද, වියළෙන්නේ ද, නැති වී යයි ද, එබඳු කලක් ඇති වන්නේ ම ය. යම් කලෙක මේ මහ පොළොව දැවේ ද, වැනසේ ද, නැතිවී යයි ද, එබඳු කලක් ඇතිවන්නේම ය. එහෙත් අවිද්‍යාවෙන් වැසී තණ්හාවෙන් බැඳී

සසර සැරිසරන්නා වූ සත්ත්වයන්ගේ දුකෙහි කෙළවරක් නම් නොවන්නේ ය.

තණ්හාව පාප කර්මයක එක ම හේතුව නොවන්නාක් මෙන් ම මේ ආත්ම භවයේ දී හෝ අනාගත ආත්ම භවයක දී එයින් ඇති වන සැම දුකකට ම, කරදරයකට ම එක ම හේතුව ද නොවේ. එහෙත් තණ්හාව ඇති කවර තැනෙක වුව ද, තණ්හාව මුල් කරගෙන දුක් කරදර ජනිත කරවන ඊර්ෂ්‍යාව, ක්‍රෝධය, වෛරය හා වෙනත් මෙබඳු බොහෝ දේ හටගනී. ආත්මාර්ථකාමී වූ සසර බඳවන මේ හැම ආශාවන් හා ක්‍රියාද එයින් ම මෙහි හෝ පසු ආත්ම භාවයක දී ජනිත වන නොයෙක් දුක් කම්කටොලු ද පමණක් නොව ජීවිතය රඳපවත්නා පංචස්කන්ධය වූවද අවසානයේ දී මෝහය හා අවිද්‍යාව මුල් කරගෙන ඇත. (ස.නි. iii, ගද්දුල සුත්ත)

කර්මය

හේතුවක් හෝ ප්‍රත්‍යයක් නොමැති ව ලෝකයේ කිසිවක් ඇති විය නොහැකි බව ද, අපගේ සහජ ශක්තීන් මෙන් ම අපගේ සම්පූර්ණ ඉරණම සියලු දුක හා සැප ද, මේ ආත්ම භවයේ හා පෙර ආත්ම භවයන්හි දී කරන ලද කර්ම අනුව සිදු වන බව ද, එසේ ම ලෝකයේ පවතින අධර්මිෂ්ඨකම්වලට හේතූන් ද පහද දෙන්නට දෙවැනි ආර්ය සත්‍යය ඉවහල් වේ. මේ හේතු කයෙන්, වචනයෙන්, හා සිතින් සිදු වන කර්මයෝ ය. එබැවින් සියලු සත්ත්වයන්ගේ ම චරිතය හා ඉරණම නිශ්චය වන්නේ ද මේ ත්‍රිවිධ කර්මය අනුව ය. නියම වශයෙන් විස්තර කරන කල්හි ධර්මය යන්නෙන් අඟවන්නේ උත්පත්තිය ඇති කරවන හා ඊට බලපාන කුසල හා අකුසල චේතනා හා ඒ හා සමඟ පහළ වන චෛතසික අංගයෝ ය. මෙසේ පැවැත්මට වඩා සුදුසු වචනවලින් කිවහොත් භව ප්‍රවෘත්තිය (භව) හේතුඵල නියාම සහිත කර්මය භවයෙන් හා එහි ඵලය වූ උත්පත්ති භවයෙන් යුක්ත ය.

මෙහි දී කර්මය ගැන සලකනවිට භවයේ අනාත්ම ස්වභාවය අමතක නොකළ යුතු ය. කුණාටුවක් හා ගසාගෙන යන මුහුද ගැන සලකන කල්හි සාගරය මත වේගයෙන් යන්නේ එක ම දිය රැලියක් නොවේ. එය වෙනස් වෙනස් වූ ජල ස්කන්ධයන්ගේ නැඟීම හා බැසීම ය. එමෙන්ම පුනරුත්පත්තිය නමැති සයුර මතුපිට වේගයෙන් යන සත්‍ය වූ ආත්ම ස්කන්ධයන් නැති බව ද, ඒවායේ ස්වභාවය හා ක්‍රියාකාරිත්වය අනුව (යහපත් හා අයහපත්) එක් තැනෙක මනුෂ්‍යයන් වශයෙන් ද, වෙන තැනෙක තිරිසනුන් වශයෙන් ද, අන්‍ය වූ තැනෙක අදෘශ්‍යමාන සත්ත්වයන් වශයෙන්ද පහළ වන (පිළිබිඹු වන) ජීවිත තරංග පමණක් බව ද අවබෝධ කරගත යුතු ය.

සත්‍ය වශයෙන් ම "කර්ම" යන පදයෙන් ඉහත සඳහන් ක්‍රියා පමණක් ම හඳුන්වන බව හා ඒවායේ ප්‍රතිඵල අදහස් නොකරන බව ද එහි ඇතුළත් නොවන බව ද මෙහි නැවත අවධාරණයෙන් සඳහන් කළ හැක.

# තෙවැනි ආර්ය සත්‍යය
# දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය

දුක නැති කිරීම නම් වූ ආර්ය සත්‍යය කවරේ ද? එම තණ්හාවගේ ම මඳකුත් ඉතිරි නැති නොරැඳුමෙක් හා නැති කිරීමක් වේ ද, අත්හැරීමක් වේ ද, සම්පූර්ණයෙන් දුරු කිරීමක් වේ ද, මිදීමක් වේ ද, ඇල්ම නොකිරීමක් වේ ද, එය යි (ස.නි V, ධම්මචක්කප්පවත්තන සුත්ත).

පහවන්නා වූ මේ තණ්හාව කවර තැනෙක්හි පහවන්නේ ද? නැතිවන්නා වූ මේ තණ්හාව කවර තැනෙක්හි නැති වේ ද? ලෝකයේ යමක් ප්‍රිය ස්වභාවය ඇත්තේ ද, යමක් සැප ස්වභාවය ඇත්තේ ද පහවන්නා වූ මෙම තණ්හාව මෙහි පහවන්නේ ය නැති වන්නා වූ මේ තණ්හාව මෙහි නැති වන්නේ ය (දී.නි. ii, මහාසතිපට්ඨාන සුත්ත).

අතීත, වර්තමාන, අනාගත කාලයන්හි යම්කිසි ශ්‍රමණ බ්‍රාහ්මණයෙක් ලෝකයෙහි ප්‍රිය ස්වභාවය ඇති මධුර ස්වභාව ඇති යමක් වේ ද, එය අනිත්‍ය වශයෙන් දකින්නේ ද, දුක් වශයෙන් දකින්නේ ද, අනාත්ම වශයෙන් දකින්නේ ද, රෝග වශයෙන් දකින්නේ ද, භය වශයෙන් දකින්නේ ද, එය දුරු කරන්නෝ ඒ ශ්‍රමණ බ්‍රාහ්මණයෝ ය (ස.නි. ii, සම්මසන සුත්ත).

## සියලු ධර්මයන්ගේ ම නිරෝධය හේතු ප්‍රත්‍යයන්ගෙන් සිදු වන බව

ඒ තණ්හාවගේ මඳකුත් ඉතිරි නැති ව නොරැඳීමෙන් හා නැති කිරීමෙන් උපාදානය නැතිවේ. උපාදානය නැති වීමෙන් කර්ම භවය නැතිවේ. කර්මභවය නැති වීමෙන් ඉපදීම නැති වේ. ඉපදීම නැති

වීමෙන් ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්, දෙම්නස් සහ උපායාසයෝ නැතිවෙත්. (ස.නි. ii, ගහපති වග්ග දුක්ඛ සුත්ත)

මෙසේ මේ සියලු දුක් නැති වෙයි. රූප, වේදනා, සංඥා, සංස්කාර, විඤ්ඤාණ යන පංචස්කන්ධවල නිරෝධය, සංසිඳීම, මැඬ පැවැත්වීම යමක් ද එය දුකෙහි නිරෝධය, රෝගයන්ගේ සංසිඳීම සහ ජරා මරණය මැඬ පවත්වයි. (ස.නි. ii, උප්පාද සුත්ත)

අඥාන නිරීක්ෂයකු තුළ වැව මතුපිට ගමන් කරන්නේ එක ම ජලස්කන්ධයකැයි යන මුළාව ඇති කරන්නා වූ ද අප දිය රැළියක් යැයි ගන්නා දිය උස් පහත් වීම නිර්මිත කරනු ලැබුවේ ද පෝෂණය කරනු ලැබුවේ ද සුළඟ විසිනි. නඩත්තු කරන ලැබුවේ ද රැස් කරන ලද ශක්තීන් විසිනි. සුළඟ අතුරුදහන්වූ පසු වැව් ජලය අලුත් සුළඟකින් නැවත උස් වන සේ පහර නොලැබුයේ නම් රැස් කරන ලද ශක්තිය ක්‍රමයෙන් ගෙවී මුළු උස් පහත් වීම අවසානයට පැමිණෙන්නේ ය. එසේ ම ගින්දරට අලුත් දර නොලැබේ නම් කලින් දැමූ දර අවසන් වූ පසු එය නිවී යයි.

ඒ පරිද්දෙන් ම අඥන පෘථග්ජනයා කෙරෙහි ආත්මයක් ය යන මුළාවක් ඇති කරවන මේ පංචස්කන්ධය තණ්හාවෙන් නිර්මිත වී පෝෂණය වී රැස් කරන ලද ජීවිත ශක්ති හේතු කොටගෙන ටික කලක් නඩත්තු වන්නේ ය. උපාදනය හෙවත් සසරට ඇති තණ්හාව හා දැඩිසේ අල්ලාගැනීම නිරුද්ධ වූ පසු අලුත් තණ්හාවකින් මේ පංචස්කන්ධය නැවත නොපෙලඹවන ලද නම් රැස් කරන ලද ජීවිත ශක්තීන් ඉතිරි ව ඇති තාක් පමණක් ජීවිතය පවතී. මරණයේ දී එවැනි අතුරුදහන්වීම හා සමඟ ම පංචස්කන්ධ ද අවසන් වශයෙන් අභාවයට පැමිණේ.

මෙසේ නිබ්බාන හෙවත් නිවීම (සංස්කෘත  නිර්වාණ; නිර්+වා, නිවීමට පැමිණීම) අංශ දෙකක් යටතේ සලකා බැලිය හැක.

1. ජීවිත කාලයක දී සිදු වන අරහත් බවට හෝ එම පාරිශුද්ධියට පැමිණීමේ දී (කිලේස පරිනිබ්බාන) මෙය වනාහි

සූත්‍රයෙහි කියන ලද පරිදි සෝපාධිසේස නිබ්බාණය හෙවත් ස්කන්ධයන් තවම ඉතිරිව තිබිය දී නිර්වාණය ඇති වන ක්ලේශයන්ගේ ප්‍රහාණය.

2. සූත්‍රයෙහි කියන ලද පරිදි අනුපාධිසේස නිබ්බාණය හෙවත් රහතන් වහන්සේගේ අභාවප්‍රාප්තියත් සමඟ ඇති වන පංචස්කන්ධයන්ගේ නිරුද්ධ වීම (ඛන්ධපරිනිබ්බාන).

නිර්වාණය

මෙය ශාන්ත ය, මෙය ප්‍රණීත ය. සියලු සංස්කාරයන්ගේ සංසිඳීමක් වේ ද, කාමාදින්ගේ, සියලු උපධීන්ගේ දුරලීමක් වේ ද, තෘෂ්ණාවේ ක්ෂය වීමක් වේ ද, නොඇලීමක් වේ ද, දුක්ඛ නිරෝධයක් වේ ද, මේ ඒ නිර්වාණය යි. (අ.නි. I, දුතිය සුත්ත)

රාගයෙන්, ද්වේෂයෙන් හා මෝහයෙන් උද්දාමයට පත් සිත් ඇත්තා වූ හා එහි ඇලුණා වූ පුද්ගල තෙමේ තමන්ට දුක් පිණිස සිතයි. අනුන්ට දුක් පිණිස සිතයි. තමන්ට හා අනුන්ට දුක් පිණිස සිතයි. මානසික දුක ද විඳියි. රාගය, ද්වේෂය, මෝහය ප්‍රහීණ කළ පුද්ගල තෙමේ තම හට දුක් පිණිස ද නොසිතයි. අනුන් හට දුක් පිණිස ද නොසිතයි. මානසික දුක ද, දොම්නස ද නොවිඳී. නිර්වාණය මේ ආත්මභාවයෙහි දී ම දැකිය හැකි ගුණ ඇත්තේ ය. කල් නොයවා දෙන ඵල ඇත්තේ ය. එව බලවයි පෙන්විය හැකි ගුණ ඇත්තේ ය. තමන් සිත්හි පමුණුවාගත යුතු ගුණ ඇත්තේ ය. නුවණ ඇත්තන් විසින් තමන් කෙරෙහිලා දත හැකි ය. (අ.නි. I, පංචම සුත්ත)

මෙසේ රාගයාගේ නැතිකිරීම, ද්වේෂයාගේ නැතිකිරීම, අවිද්‍යාවගේ නැතිකිරීම නිවන නම්වේ (ස.නි. iv, නිබ්බාණ සුත්ත).

රහතන් වහන්සේ

මෙසේ මනා කොට මිදුණා වූ, නිවුනා වූ, ඒ භික්ෂුව විසින් කරන ලද දෙයට නැවත නැවත එකතු කළයුතු යමක් නොමැත. වැඩීමක් නැත්තේ ය. කළ යුතු ඊට වැඩි දෙයක් නැත. යම්සේ ඝන වූ පර්වතය වාතයෙන් කම්පා නොවේ ද එසේ ම රූපාලම්බනයෙන් ද ශබ්දලම්බනයෙන් ද ගන්ධාලම්බනයෙන් ද රසාලම්බනයෙන් ද ස්පර්ශාලම්බනයෙන් ද ගිජු නොවන රහතන් වහන්සේ කම්පා නොවෙති. උන් වහන්සේගේ සිත විශේෂයෙන් මිදුණේ වේ. සිටියේ වේ. ඒ රහතන් වහන්සේ සිතෙහි ඇතිවීම ද නැතිවීම ද නැවත නැවත දකියි. (අ.නි. iv, සෝණ සුත්ත)

මෙසේ මේ ලෝකයේ සියලු විපරිණාම ධර්මයන් අවබෝධ කරගත්, ලෝකයේ කිසිම දෙයකින් කම්පා නොවන ශාන්ත වූ උන් වහන්සේ ද්වේෂයෙන්, ශෝකයෙන් සහ ආශාවන්ගෙන් මිදුණු ඉපදීම සහ ජරාව ඉක්මවූයේ වේ (සුත්තනිපාත, 1048 වන ගාථාව).

සදාතනික ධර්ම

ද්‍රව්‍යයක් හෝ ද්‍රවයක් නැත්තා වූ ද, උෂ්ණත්වයක් හෝ ක්‍රියාකාරීත්වයක් නැත්තා වූ ද, මේ ලෝකය හෝ වෙනත් ලෝකයක් නැත්තා වූ ද සූර්යයා හෝ චන්ද්‍රයා නැත්තා වූ ද යම් ස්ථානයක් ඇත්තේ ම ය. මේ වනාහි ඇති වීමක් හෝ නැතිවීමක් හෝ පවතින්නක් හෝ උපදමින් හෝ ආභාවයට යමින් පවතින්නක් හෝ යැයි මම නොකියමි. එහි රැඳිය හැකි ස්ථානයක් හෝ වර්ධනය වීමක් හෝ පදනමක් හෝ නැත්තේ ම ය. ඒ වනාහි දුක්ඛයාගේ කෙළවර යි. (උදානපාළි, පඨම නිබ්බාන සුත්ත)

හේතු ප්‍රත්‍යයෙන් නූපන්, හේතු ප්‍රත්‍යයෙන් පහළ නොවූ, නොකරන ලද අසංකෘත නිර්වාණ ධාතුව (පරමාර්ථ වශයෙන්) නොවී නම් මෙහි හේතු ප්‍රත්‍යයන්ගෙන් උපන්, පහළ වූ, කරන ලද වූ, පංචස්කන්ධයේ සංසිඳීමක් ලැබිය නොහැකි ය (උදානපාළි, තතිය නිබ්බාන සුත්ත).

# සතරවැනි ආර්ය සත්‍යය

# දුක්ඛ නිරෝධ ගාමිණී පටිපද ආර්ය සත්‍යය

අන්ත දෙක සහ මධ්‍යම ප්‍රතිපදාව

පැවිද්දා සේවනය නොකළ යුතු අන්ත දෙකකි. එනම් ළාමක වූ, ග්‍රාම්‍ය වූ, පෘථග්ජනයන්ට අයත් වූ, උතුම් නොවූ, අනර්ථය පිණිස පවතින්නා වූ, වස්තු කාමයෙහි හා ක්ලේෂ කාමයෙහි ඇලි ගැලී වාසය කිරීම නම් වූ කාමසුඛල්ලිකානුයෝගය හා දුක්ඛදායක වූ, ලාමක වූ, අනර්ථය පිණිස පවත්නා වූ, යම් සේ කයට දුක් ගෙන දෙන පිළිවෙතක යෙදීම නම් වූ අත්තකිලමථානුයෝගය යන අන්ත දෙකයි.

මේ අන්ත දෙකට නොපැමිණි තථාගතයන් වහන්සේ විසින් අවබෝධ කරන ලද ප්‍රඥා චක්ෂුසය ඇති කරන්නා වූ, ඥානය ඇති කරන්නා වූ මධ්‍යම ප්‍රතිපදාව කෙලෙසුන්ගේ සංසිඳීම් පිණිස, චතුරාර්ය සත්‍යය දැනීම පිණිස, අවබෝධය පිණිස හා නිවන් පිණිස පවතියි.

## ආර්ය අෂ්ටාංගික මාර්ගය

ඒ මධ්‍යම ප්‍රතිපදව වනාහි මේ දුක කෙළවර කිරීම පිණිස පවත්නා වූ ආර්ය අෂ්ටාංගික මාර්ගය යි. එය මෙසේ යි,

| | |
|---|---|
| 1. නිවැරදි දැකීම (සම්මා දිට්ඨි)<br>2. නිවැරදි කල්පනාව (සම්මා සංකප්ප) | ප්‍රඥා |
| 3. නිවැරදි වචනය (සම්මා වාචා)<br>4. නිවැරදි ක්‍රියා (සම්මා කම්මන්ත)<br>5. නිවැරදි දිවි පැවැත්ම (සම්මා ආජීව) | ශීල |
| 6. නිවැරදි වෑයම (සම්මා වායාම)<br>7. නිවැරදි සිහිය (සම්මා සති)<br>8. නිවැරදි සමාධිය (සම්මා සමාධි) | සමාධි |

මේ වනාහි තථාගතයන් වහන්සේ විසින් අවබෝධ කරන ලද, ප්‍රඥා චක්ෂුසය ඇති කරන්නා වූ, ඥානය ඇති කරන්නා වූ,

කෙලෙසුන්ගේ සංසිඳීම පිණිස, චතුරාර්ය සත්‍ය දැනීම පිණිස, නිවන් පිණිස පවත්නා වූ මධ්‍යම ප්‍රතිපදාව වෙයි.

උපමාලංකාර වශයෙන් යෙදෙන "මාර්ගය" හෙවත් පාර යන්නෙහි අදහස, එහි ඇති එක් එක් අංග දැක්වෙන පිළිවෙළ අනුව ම වෙන වෙන ම ප්‍රගුණ කළ යුතු ය කියා සමහර විට වරදවා තේරුම්ගෙන ඇත. එසේ වූ කල නිවැරදි දෘෂ්ටිය එනම් සත්‍යය විනිවිද දැකීම, නිවැරදි සංකල්පනාව හෝ නිවැරදි වචනය ආදිය ප්‍රගුණ කිරීමට සිතන්නට පෙර අවබෝධ කළ යුතු වෙයි. එහෙත් ඇත්ත වශයෙන්ම සීලයට ඇතුළත් වන නිවැරදි වචනය, නිවැරදි ක්‍රියා, නිවැරදි දිවි පැවැත්ම යන අංග තුන ප්‍රථමයෙන් සම්පූර්ණ කළ යුතු වේ. ඉන්පසු සමාධියට ඇතුළත් වන නිවැරදි වෑයම, නිවැරදි සිහිය, නිවැරදි සමාධිය යන අංග තුන ප්‍රගුණ කිරීමෙන් සිත දියුණු කිරීම කෙරෙහි කෙනකුගේ අවධානය යොමු කළ යුතු ය. ප්‍රඥාවට ඇතුළත් පළමුවැනි අංග දෙක නිවැරදි දැකීම හා නිවැරදි කල්පනාව සම්පූර්ණ කිරීමට මිනිස් චරිතය හා මිනිස් සිත යෝග්‍ය වනුයේ මෙම සූදානමෙන් පසුව ය.

ආර්ය අෂ්ටාංගික මාර්ගය අනලස් ව ප්‍රගුණ කිරීම සඳහා අවශ්‍ය උද්යෝගය ලබාගැනීමට ද ඒ පිළිබඳ විශ්වාසය ඇති කරන කරුණු සපයා ගැනීමට ද, දුක ආදිය පිළිබඳ අවබෝධයක් අවශ්‍ය බැවින්, පටන්ගැනීමේ දී මූලික වශයෙන් ස්වල්ප වූ නිවැරදි දෘෂ්ටිය අවශ්‍ය ය. මිදීමේ පොදු කටයුත්ත සඳහා අනෙක් මාර්ගාංගයන්ගේ සිය කාර්යයන් බුද්ධිමත් ව දක්ෂ ලෙස සපුරාලීමට, ඉටු කරවීමට උපකාරයක් වශයෙන් එක්තරා ප්‍රමාණයක දෘෂ්ටියක් ඇතිකර ගැනීම අවශ්‍ය වේ. එම කරුණු නිසා ද එම මාර්ගයේ වැදගත්කම අවධාරණයෙන් කිව යුතු නිසා ද නිවැරදි දෘෂ්ටියට ආර්ය අෂ්ටාංගික මාර්ගයෙහි මුල් තැන දී ඇත.

සතර ඵලයට පැමිණීමට හා නිවන් ලැබීමට ආසන්න හේතුව වන විදර්ශනාවට අවසාන වශයෙන් සම්ප්‍රාප්තවන තෙක් ඉතිරි මාර්ගයන්ගේ උපකාරයෙන් ධර්මය පිළිබඳ මේ මුල් අවබෝධය ක්‍රමයෙන් දියුණු කරගත යුතු ය.

එබැවින් නිවැරදි දෘෂ්ටිය වනාහි ආර්ය අෂ්ටාංගික මාර්ගයේ පටන්ගැන්ම මෙන්ම කූඨප්‍රාප්තිය ද වේ. මේ මාර්ගය වනාහි දුක් නැත්තා වූ, හිංසා නැත්තා වූ, දැඩි වෙහෙස රහිත වූ, දුක් රහිත වූ, සම්පූර්ණ ප්‍රතිපදාවකි. (ම.නි. IV, අරණවිභංග සුත්ත)

මාර්ග ඵල ප්‍රඥා යැයි කියන ලද දැකීම සුපිරිසුදු කරගැනීමට මාර්ගය මෙය ම වේ. ඒ සඳහා අනෙක් මඟක් නැත. ඔබ මේ ආර්ය අෂ්ටාංගික මාර්ගය පිළිපදිවු, මෙය මාරයා මුළා කරන්නකි.

මේ ආර්ය මාර්ගයට පිළිපන් ඔබ සසර දුක් කෙළවර කරන්නාහු ය. රාගාදි මුල් උදුරාලන මේ මාර්ගය මවිසින් ප්‍රත්‍යක්ෂ ඥානයෙන් ම දැන කියන ලදි.

ඔබ කෙලෙස් තැවීමට වීර්ය කළ යුතු ය. බුදුවරු නිවනට පමුණුවන මඟ කියන්නාහු වෙති. ඒ මඟට බැස ධ්‍යාන වඩන්නෝ මාර බන්ධනයෙන් මිදෙන්නෝ ය. (ධම්මපදය)

ධර්ම ශ්‍රවණයට කන් නමවු, එවිට නිර්වාණය අවබෝධ කරන පිණිස ම මම අනුශාසනා කරමි. මම ධර්මය දේශනා කරමි. මාගේ අනුශාසනා පරිදි පිළිපදිවු. කුල පුත්‍රයෝ යම් නිර්වාණයක් පිණිස මනාකොට ගිහිගෙයින් නික්ම ශාසනයෙහි පැවිදි වෙත් ද, මාර්ග බ්‍රහ්මචර්යාව කෙළවර කොට ඇති නිරුත්තර වූ ඒ නිර්වාණය මේ ආත්මභාවයෙහි ම ඔබ නොබෝ කලකින් නුවණින් දැන ප්‍රත්‍යක්ෂ කොට ඊට පැමිණ වාසය කරන්නෙහි ය. (ම.නි. I, අරියපරියේසන සුත්ත)

# පළමුවැනි පියවර[1]

# නිවැරදි දැකීම (සම්මා දිට්ඨි)

නිවැරදි දැකීම (සම්මා දිට්ඨි) නම් කවරේද?

චතුරාර්ය සත්‍යය අවබෝධ කරගැනීම

1. දුක පිළිබඳ යම් දැනීමක් වේ ද,
2. දුකට හේතුව පිළිබඳ යම් දැනීමක් වේ ද,
3. දුක නැති කිරීම පිළිබඳ යම් දැනීමක් වේ ද,
4. දුක නැති කිරීමට පමුණුවන මාර්ගය පිළිබඳ යම් දැනීමක් වේ ද

මෙය නිවැරදි දැකීම (සම්මා දිට්ඨි) යැයි කියනු ලැබේ.

කුසල් හා අකුසල් අවබෝධ කරගැනීම

තව ද යම් විටෙක ආර්ය ශ්‍රාවක තෙම කුසලයත් දනී ද, කුසල මූලයත් දනී ද, අකුසලයත් දනී ද, අකුසල මූලයත් දනී ද, එවිට ආර්ය ශ්‍රාවකයා නිවැරදි දැකීමෙහි පිහිටි ඇත්තෙක් වෙයි.

අකුසලය කවරේ ද?

1. ප්‍රාණඝාතය අකුසලයකි.
2. සොරකම් කිරීම අකුසලයකි.
3. කාමයන්හි වරදවා හැසිරීම අකුසලයකි.

} කාය කම්ම (කයෙන් සිදු වන අකුසල්)

---

[1] මෙහි පියවර යනුවෙන් දක්වා ඇත්තේ ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ඒ ඒ අංග අට යි.

4. බොරු කීම අකුසලයකි.
5. කේලම් කීම අකුසලයකි.
6. පරුෂ වචන කීම අකුසලයකි.
7. නිෂ්ඵල වචන කීම අකුසලයකි.

} වචී කම්ම (වචනයෙන් සිදු වන අකුසල්)

8. දැඩි ලෝභය අකුසලයකි.
9. බලවත් ක්‍රෝධය අකුසලයකි.
10. වැරදි දෘෂ්ටිය අකුසලයකි.

} මනෝ කම්ම (සිතින් සිදු වන අකුසල්)

මේ දසය අකුසල කම්මපථ හෙවත් අයහපත් ක්‍රියා මාර්ග යැයි කියනු ලැබේ.

අකුසල මූල කවරේ ද? ලෝභය අකුසල මූලයකි. ද්වේෂය අකුසල මූලයකි. මෝහය අකුසල මූලයකි. එබැවින් ලෝභය මුල් කොට ඇති අකුසල් ය, ද්වේෂය මුල් කොට ඇති අකුසල් ය, මෝහය මුල් කොට ගෙන ඇති අකුසල් යැයි අකුසල් තෙවැදෑරුම් යැයි මම කියමි. ලෝභයෙහි හා ද්වේෂයෙහි හෝ මෝහයෙහි මුල් බැසගත් කයෙන්, වචනයෙන් හා මනසින් සිදු වන යම් චෛතසික ක්‍රියාවක් අකුසල කර්මයක් යැයි සලකනු ලැබේ. ඒ වනාහි අකුසල යැයි සලකනු ලබන්නේ එයින් මේ භවයේ හෝ වෙන යම් අනාගත භවයක දී නපුරු වූ ද, දුක් වූ ද විපාක ගෙනදෙන බැවිනි. චේතනාව ඇත්ත වශයෙන් ම කර්මය මෙන් ගැනේ. එය කයෙන් හෝ වචනයෙන් හෝ සිදු වන ක්‍රියාවක් මෙන් විද්‍යමාන විය හැක. එසේ බාහිර වශයෙන් විද්‍යමාන නොවන්නේ නම් එය චෛතසික මනෝ කර්මයක් මෙන් ගැනේ. මෝහය සියලු පාපයන්ට මූලික හේතුව වන බැවින් ලෝභය මෙන් ම ද්වේෂය ද සැම විට ම මෝහය හා එක් ව පවතියි. ලෝභය හා ද්වේෂය එක ම විඤ්ඤාණයක් තුළ එකවර ඇති විය නොහැක.

කුසලය කවරේ ද?

1. ප්‍රාණඝාතයෙන් වැළකීම කුසලයකි.
2. සොරකම් කිරීමෙන් වැළකීම කුසලයකි.
3. කාමයන්හි වරදවා හැසිරීමෙන් වැළකීම කුසලයකි.

} කාය කම්ම (කයෙන් සිදු වන කුසල්)

4. බොරු කීමෙන් වැළකීම කුසලයකි.
5. කේලම් කීමෙන් වැළකීම කුසලයකි.
6. පරුෂ වචනයෙන් වැළකීම කුසලයකි.
7. හිස් වචනයෙන් වැළකීම කුසලයකි.

} වචී කම්ම (වචනයෙන් සිදු වන කුසල්)

8. දැඩි ලෝභය නැති බව කුසලයකි.
9. ව්‍යාපාද නැති බව කුසලයකි.
10. නිවැරදි දැකීම කුසලයකි.

} මනෝ කම්ම (සිතින් සිදු වන කුසල්)

මේ දසය කුසල කම්මපථ හෙවත් යහපත් වූ ක්‍රියා මාර්ග යැයි කියනු ලැබේ. (ම.නි. I, සම්මාදිට්ඨි සුත්ත)

කුසල මූල කවරේ ද?

අලෝභය කුසල මූලයකි. අද්වේෂය කුසල මූලයකි. අමෝහය කුසල මූලයකි.

ත්‍රිලක්ෂණය තේරුම්ගැනීම

යමෙක් රූප, වේදනා, සංඥා, සංස්කාර, විඥ්ඥාණ අනිත්‍ය බවත් දුක් බවත් අනාත්ම බවත් දන්නේ ද, හෙතෙම නිවැරදි දැකීමෙන් (සම්මා දිට්ඨියෙන්) යුක්ත වූවෙකැයි කියනු ලැබේ. (ස.නි. III, පඨමනන්දික්ඛය සුත්ත)

## නිෂ්ඵල ප්‍රශ්න

"භාග්‍යවතුන් වහන්සේ ලෝකය සදාතනික ය කියා හෝ ලෝකය සදාතනික නොවේ ය කියා හෝ ලෝකය කෙළවරක් ඇත්තේ ය කියා හෝ ලෝකයේ කෙළවරක් නැත්තේ ය කියා හෝ ඒ ජීවය ම ඒ ශරීරය කියා හෝ ජීවය අනෙකක ශරීරය කියා හෝ භාග්‍යවතුන් වහන්සේ මරණින් පසු ඇති වේ ය කියා හෝ ඇති නොවේ ය කියා හෝ" යනාදි වශයෙන් යම්තාක් මට ප්‍රකාශ නොකරත් ද ඒ තාක් මම භාග්‍යවතුන් වහන්සේ වෙත, පැවිදි වීමට නොකැමැත්තෙමි යි යමෙක් කියන්නේ නම් තථාගතයන් වහන්සේ විසින් මේ සියල්ල ප්‍රකාශ කිරීමට ප්‍රථමයෙන් ඒ පුද්ගල තෙමේ කළුරිය කරන්නේ ය.

යම් සේ පුරුෂයෙක් විෂ පෙවූ ඊතලයකින් විදින ලද වන්නේ ද ඔහුගේ මිත්‍රයන්, යහළුවන්, නෑයන් ඔහු ශල්‍ය වෛද්‍යවරයකුට ඉදිරිපත් කරන්නේ ද එවිට ඔහු මෙසේ කියන්නේ ද "යමකු විසින් විදින ලද්දේ වේ ද, එම තැනැත්තා ක්ෂත්‍රියයෙක් ද, බ්‍රාහ්මණයෙක් ද, වෛශ්‍යයෙක් ද, ශුද්‍රයෙක් ද, කිනම් ඇත්තෙක් ද, කිනම් ගෝත්‍ර ඇත්තෙක් ද, උස කෙනෙක් ද මිටි කෙනෙක් ද, මධ්‍යම තරමේ කෙනෙක් ද, ආදි වශයෙන් විචාරන්නේ ද, යම්තාක් ඒ පුරුෂයා ගැන මේ කරුණු නොදනිම් ද, ඒ තාක් මම මේ ඊතලය නොගලවාගන්නෙමි'' යි කියන්නේ ද, ඒ පුරුෂයා යට කී කරුණු දැනගැනීමට ප්‍රථම කළුරිය කරන්නේ ය (ම.නි.ii, චූලමාලුංක්‍ය සුත්ත).

ඒහෙයින් තමාගේ යහපත කැමති පුද්ගලයා පරිදේව හෙවත් වැලපීම, වේදනාව හා දොම්නස යන ඊතල උදුරා දමයි (සුත්ත නිපාත සල්ල සුත්ත).

ලෝකයේ කෙළවරක් ඇත්තේ ය කියා හෝ කෙළවරක් නැත්තේ ය කියා හෝ ලෝකය සදාතනික කියා හෝ ලෝකය

සදාතනික නොවේ ය කියා හෝ දැකීමක් තැකීමක් ඇති කල්හි ද නැති කල්හි ද ඒකාන්තයෙන් ඉපදීම ඇත.

ජරාව ඇත. මරණය ඇත. ශෝක, වැලපීම, දුක්, දොම්නස්, දැඩි ආයාස ඇත. මෙලොව දී ම නැති කරගත හැකි, එය නැති කිරීම පිණිස මම දේශනා කරමි (ම.නි. ii, චූලමාලුංඛ්‍ය සුත්ත).

සංයෝජන පහ

මේ ලෝකයේ යම් අයෙක් ආර්යයන් නොදන්නා, ආර්ය ධර්මයෙහි අදක්ෂ, ආර්ය ධර්මයෙහි නොහික්මුණු නොදක්නා නූගත් පෘථග්ජනයා ආත්මයක් ඇත යන දෘෂ්ටියෙන් (සක්කාය දිට්ඨි) මඬනා ලදුව උපන් සක්කාය දෘෂ්ටිය ඇති සිතින් වාසය කරයිද සැකයෙන් මඬනා ලදුව උපන් සැකය (විචිකිච්ඡා) ඇති සිතින් වාසය කරයි ද, සීලබ්බත පරාමාසයෙන් මඬනා ලදුව උපන් සීලබ්බත පරාමාසය ඇති සිතින් වාසය කරයි ද, කාමරාගයෙන් මඬනා ලදුව උපන් කාමරාගය ඇති සිතින් වාසය කරයි ද, කෝපයෙන් මඬනා ලදුව උපන් කෝපය ඇති සිතින් වාසය කරයි ද, හෙතෙම ඒවායේ නැති කිරීම ඇති සැටියෙන් නොදනී (ම.නි.ii, චූලමාලුංඛ්‍ය සුත්ත).

සක්කාය දෘෂ්ටිය මෙසේ දෙයාකාරයකින් පෙනෙනු ඇත.

1. "සදාතිනකත්වය" හෙවත් ශාස්වත දෘෂ්ටිය යනු "සදාතනිකත්වයක් ගැන විශ්වාසය යි" එනම් යම් කෙනකුගේ ආත්මය හෝ පෞද්ගලිකත්වය ද්‍රව්‍යමය ශරීරයෙන් නිදහස් ව පැවතෙන බව හා ශරීරය නැති වීමෙන් පසු වුව ද එය දිගට ම පැවතෙන බව විශ්වාස කිරීම යි.

2. "නිරුද්ධිය පිළිබඳ විශ්වාසය" හෙවත් උච්ඡේද දෘෂ්ටිය යනු ''මේ ජීවිතය ආත්මය යැයිද එබැවින් මේ ද්‍රව්‍යමය ශරීරයාගේ මරණයේ දී එම ආත්මය විනාශ වන්නේය'' යන විශ්වාසය යි.

## මෙනෙහි නොකළ යුතු ධර්ම

මෙනෙහි කළ යුතු ධර්ම හා මෙනෙහි නොකළ යුතු ධර්ම නොදන්නා වූ පෘථග්ජනයා මෙනෙහි නොකළ යුතු ධර්ම මෙනෙහි කරයි. මෙනෙහි කළ යුතු ධර්ම මෙනෙහි නොකරයි.

හෙතෙම මෙසේ අනුවණින් මෙනෙහි කරයි. මම අතීත කාලයෙහි උත්පත්ති වශයෙන් කිසිවෙක් වූයෙම් ද, කිසිවෙක් නුවූයෙම් ද, මම ක්‍ෂත්‍රිය ආදීන් අතුරින් කවරෙක් වූයෙම් ද, කවරෙක් නුවූයෙම් ද කෙබඳු සටහන් ඇත්තෙක් වූයෙම් ද මම අතීත කාලයෙහි කවරෙකු ව සිට කවරෙක් වූයෙම් ද, මම අනාගත කාලයෙහි කිසිවෙක් වන්නෙම් ද ක්‍ෂත්‍රිය ආදි කිසිවෙක් නොවන්නෙම්ද, කෙබඳු සටහන් ඇත්තෙක් වන්නෙම් ද මම මතු කල්හි බ්‍රාහ්මණ ආදි කවරෙකු වන්නෙම් ද වෛශ්‍යාදි කවරෙකු වන්නෙම් ද යනුවෙනි. වර්තමානය පිළිබඳ මෙසේ සැක ඇත්තේ වේ. "මම" යන කිසිවෙක් ඇත්තේ ද ''මම'' යන කිසිවෙක් නැත්තේ ද, ''මම'' කවරෙක් වන්නෙම් ද, කිනම් සටහන් ඇත්තෙක් වෙම් ද, කොතැනින් ආයෙම් ද, කොහි යන්නෙක් වෙම් ද යනුවෙනි.

## ආත්මය පිළිබඳ වූ මත සය

මෙසේ අනුවණින් මෙනෙහි කරන්නා වූ ඔහුට සය ආකාර දෘෂ්ටි අතුරෙන් එක්තරා දෘෂ්ටියක් උපදියි. සත්‍ය වශයෙන් ආත්මයක් ඇත යන ශාස්වත දෘෂ්ටිය හෝ උපදීයි. සත්‍ය වශයෙන් ආත්මය විනාශ වේ ය යන උච්ඡේද දෘෂ්ටිය හෝ උපදීයි. ස්කන්ධයක් ආත්ම යැයි කියන ඉතිරි ස්කන්ධය නමැති ආත්මය දනිම් ය කියා හෝ සංඥාව ආත්මය කොට ඉතිරි ස්කන්ධය ආත්ම වශයෙන් නොගෙන සංඥාව නම් වූ ආත්මය විසින් ආත්මය නොවන ඉතිරි ස්කන්ධ දනිමැයි කියා හෝ සංඥාවෙන් අන්‍ය ස්කන්ධයන් අනාත්ම වශයෙන් ආත්මය නොවන වේදනා

ස්කන්ධයන් කරණ කොටගෙන ආත්මය වන සංඥ ස්කන්ධය දනිමැයි කියා හෝ දෘෂ්ටිය උපදීයි. නැතහොත් කථා කරන්නා වූ සැපදුක් විඳින්නා වූ යම් යම් ආත්මයක් ඒ ඒ ජාතියෙහි කළ කුසල අකුසල කර්මයන්ගේ විපාකය විඳියි ද, මාගේ මේ ආත්ම තෙම නිත්‍ය ය, ස්ථිර ය, සැමදම පවතී යන දෘෂ්ටිය හෝ උපදීයි (ම.නි. I, සබ්බාසව සුත්ත).

තමා ද තමාට අයත් දෙයක් ද ස්ථිර වශයෙන් නොලැබෙන කල්හි මෙය ලෝකයයි මෙය ආත්මයයැයි ඒ මම පරලොව නිත්‍ය සැම ද පවත්නා නොපෙළෙන ස්වභාව ඇති ස්ථිර වූවෙක් වන්නෙමී ය යන යම් හැඟීමක් වේ ද එය සම්පූර්ණයෙන් ම මෝඩකමක් නොවේද? (ම.නි. i, අලගද්දූපම සුත්ත).

මෙය දෘෂ්ටි යැයි ද, දෘෂ්ටි ලැහැබ යැයි ද, දෘෂ්ටි කාන්තාර යැයි ද, දෘෂ්ටි රූකඩ යැයි ද, දෘෂ්ටි උගුල යැයි ද කියනු ලැබේ. දෘෂ්ටිය නමැති බැඳුමෙන් යුක්ත වූ එම පෘථග්ජන තෙම උත්පත්තියෙන් ද, ජරාවෙන් හෝ මරණයෙන් ද, ශෝක කිරීමෙන් ද වැලපීමෙන් ද, ශාරීරික මානසික දුකින් ද, දැඩි වෙහෙසින් ද යන මේ සියලු සංස්කාර දුකින් නොමිදේ යැයි කියමි.

මෙනෙහි කළ යුතු ධර්ම කවරහුද?

බුද්ධාදි සත්පුරුෂයන් දුටුවා වූ සත්පුරුෂ ධර්මයෙහි දක්ෂ වූ සත්පුරුෂ ධර්මයෙහි හික්මුණා වූ බොහෝ ඇසූ පිරූ තැන් ඇති ආර්ය ශ්‍රාවක තෙමේ මෙනෙහි කළ යුතු ධර්මයන් දනී. ඒවා දැන මෙනෙහි කරයි. මෙනෙහි නොකළ යුතු ධර්මයන් දනියි. ඒවා මෙනෙහි නොකරයි. හෙතෙම මේ දුක යැයි නුවණින් කල්පනා කරයි. මේ දුක් ඉපදීමට හේතුව යැයි නුවණින් කල්පනා කරයි. මේ දුක් නැති කිරීම යැයි නුවණින් කල්පනා කරයි. මේ දුක් නැති කිරීමේ මාර්ගය යැයි නුවණින් කල්පනා කරයි (ම.නි. ii, සබ්බාසව සුත්ත).

## සෝවාන් පුද්ගලයා

මෙසේ මෙනෙහි කිරීමෙන් ආර්ය ශ්‍රාවකයා හට සක්කාය සංයෝජනය, විචිකිච්ඡා සංයෝජනය, සීලබ්බත පරාමාස සංයෝජනය යන සංයෝජන තුන නැති වේ. "ශාසනයෙහි යම් ශ්‍රාවකයන්ගේ මේ සංයෝජන තුන නැති වූයේ ද ඒ සියල්ලෝ ම සෝවාන් වූවෝ වෙත්. අපායෙහි නූපදින සුලු ය, නිසැක ව සම්බෝධිය ලබත්. (ම.නි. I, අලගද්දූපම සුත්ත).

මුළු පොළොවට ම එක් රජකු වීමටත් ස්වර්ගයට යාමටත් සියලු ලොවෙහි අධිපතිකම ලැබීමටත් වඩා සෝවාන් ඵලය උතුම් ය. (ධම්මපදය, 178 ගාථාව).

## සංයෝජන දසය

සත්ත්වයෝ භව චක්‍රයට මේ සංයෝජන හෙවත් බැමි දසයෙන් බඳිනු ලබත්. ඒවා මෙසේ යඃ - 1. සක්කාය දිට්ඨි 2. විචිකිච්ඡා 3. සීලබ්බත පරාමාස 4. කාමරාග, 5. ව්‍යාපාද 6. රූපරාග 7. අරූපරාග 8. මාන 9. උද්ධච්ච 10. අවිජ්ජා.

## ආර්ය පුද්ගලයෝ

පළමු බැමි තුනින් මිදුණු තැනැත්තාට සෝතාපත්ති හෙවත් පාලියෙන් සෝතාපන්න යැයි කියනු ලැබේ. ඒ අනුව නිවන කරා ගලා යන දිය පාරට බැසගත් තැනැත්තා නම් වේ (සෝත යනු දිය පහරට නමකි). ඔහු වනාහි බුද්ධ, ධම්ම, සංඝ යන ත්‍රිවිධ රත්නය ගැන අචල ශ්‍රද්ධාව ඇත්තා වූ ද පංචශීලය නොබිඳිනා කෙනෙක් ද වේ. ඔහු නැවත උපදින්නේ මනුෂ්‍යත්වයට පහත් නොවූ භවයක උපරිම වශයෙන් සත් වාරයක් පමණි.

දළ වශයෙන් සතරවැනි හා පස්වැනි බැමි මැඬ පැවැත්වූ තැනැත්තාට සකදගාමී යැයි කියනු ලැබේ. එම තැනැත්තා නැවත කාම ලෝකයේ උපදින්නේ එක් වරක් පමණි. එයින් පසුව රහත් ඵලයට පැමිණේ.

අනාගාමී තැනැත්තා වනාහි කාම ලෝකයෙහි පුනරුත්පත්තිය ගෙනදෙන පළමු බැමි පහෙන් සම්පූර්ණයෙන් මිදී ඇත. හෙතෙම නැවත කාම ලෝකයෙහි උත්පත්තිය නොලබන අතර, කෙළවර වූ අමාමහ නිවනට පැමිණේ.

අරහත් හෙවත් සම්පූර්ණයෙන් පවිත්‍ර වූ පුද්ගල තෙම බැමි දසයෙන් ම මිදී ඇත.

ඉහත සඳහන් අවස්ථා හතර මාර්ග හා ඵල වශයෙන් කොටස් අටකින් යුක්ත වේ. ඒ අනුව ආර්ය පුද්ගලයෝ අට දෙනෙකි.

ඒ ඒ තත්වය යටතේ මාර්ගයට හෙවත් ප්‍රතිපදාවට අවතීර්ණ වීම මාර්ග යනුවෙන් හැඳින්වෙන අතර, ඵලය යනුවෙන් අදහස් වන්නේ මාර්ග ප්‍රතිපදාව සම්පූර්ණ කිරීමෙන් අත්පත් කරගන්නා ආධ්‍යාත්මික තත්ත්වය යි.

# නිවැරදි දැකීම කුමක් ද?

ලෞකික හා ලෝකෝත්තර නිවැරදි දැකීම යනුවෙන් නිවැරදි දැකීම දෙයාකාර වේ.

ආශ්‍රව සහිත වූ පුණ්‍ය ප්‍රතිපදාවට අයත් වූ විපාක දෙන ස්වභාව ඇති නිවැරදි දෘෂ්ටිය කවරේ ද? දුන් දෙයෙහි විපාක ඇත. මහා දනයේ විපාක ඇත. කුසලාකුසලයන්ගේ විපාක ඇත. මෙලොවක් ඇත. පරලොවක් ඇත. මව ඇත. පියා ඇත. ඕපපාතිකව උපදින සත්වයෝ ඇත. මෙලොව ද පරලොව ද තමා ම විශේෂ ඥානයෙන් දැන ප්‍රකාශ කරන මනාව පිළිපන් ශ්‍රමණ බ්‍රාහ්මණයෝ ඇත. මෙය ආශ්‍රව සහිත වූ පුණ්‍ය ප්‍රතිපදාවට අයත් වූ මතු විපාක දෙන ස්වභාව ඇත්තා වූ ලෞකික නිවැරදි දැකීමයි.

ආශ්‍රව රහිත වූ ලෝකෝත්තර මාර්ගයක් වූ නිවැරදි දෘෂ්ටිය කවරේ ද? ආර්ය වූ ආශ්‍රව රහිත වූ ආර්ය මාර්ගයේ යුක්ත වූ ආර්ය මාර්ගය වඩන්නා වූ යම් ප්‍රඥුවක් වන්නේ ද, මේ නිදොස් වූ ආශ්‍රව රහිත වූ ලෝකෝත්තර නිවැරදි දැකීමයි.

මෙසේ ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ආකාර දෙකකි. එනම් ආර්ය මාර්ගයේ පළමු පියවර වත් සම්පූර්ණ නොකළ (සෝතාපන්න) පුහුදුන් පුද්ගලයා විසින් අනුගමනය කරනු ලබන ලෞකික (ලෝකීය) හා ආර්ය පුද්ගලයන් විසින් අනුගමනය කරනු ලබන ලෝකෝත්තර යන ආකාර දෙක යි (ම.නි. මහාචත්තාරීසක සුත්ත).

වෙනත් පියවර හා ඒකාබද්ධ වූ

මිථ්‍යා දැකීම මිථ්‍යා දැකීම වශයෙන් ද නිවැරදි දැකීම නිවැරදි දැකීම වශයෙන් ද වෙන්කොට දැනගැනීම නිවැරදි දැකීමයි (සම්මා දිට්ඨි). යමෙක් මිථ්‍යා දැකීම පහ කිරීමටත් නිවැරදි දැකීම වැඩීමටත්

වෑයම් කෙරේ ද එය ඔහුගේ නිවැරදි වෑයම වේ (සම්මා වායාම). එය සවැනි පියවර වේ. හෙතෙම සිහියෙන් යුක්ත වූයේ මිථ්‍යා දෘෂ්ටිය දුරු කරයි. සිහියෙන් යුක්ත වූයේ නිවැරදි දෘෂ්ටිය අනුගමනය කරයි. එය ඔහුගේ නිවැරදි සතිය (සම්මා සති) වන සත්වැනි පියවර වේ.

මෙසේ මේ ආර්ය අංග තුන එක්ව ගමන් කරයි. එනම් නිවැරදි දැකීම (සම්මා දිට්ඨි), නිවැරදි වෑයම (සම්මා වායාම) හා නිවැරදි සතිය යි (සම්මා සති) යනුවෙනි. (ම.නි. iii, මහාචත්තාරීසක සුත්ත).

## සියලු දෘෂ්ටීන්ගෙන් මිදුණු බව

භාග්‍යවතුන් වහන්සේ කිනම් දෘෂ්ටි ඇත්තෙක් දැයි යමෙක් අසන්නේ නම් ඔහුට මෙසේ පිළිතුරු දිය යුතු යි. භාග්‍යවතුන් වහන්සේ කිසියම් දෘෂ්ටි ඇත්තෙක් නොවේ. භාග්‍යවතුන් වහන්සේ රූපය ප්‍රහීණ කළ සේක. මුල් සිඳින ලද සේක. මුදුන සිඳුණු ලද තල් ගසක් මෙන් සිඳින ලද සේක. විනාශ කරන ලද සේක. මතු නූපදනා බවට පමුණුවන ලද සේක. භාග්‍යවතුන් වහන්සේ රූපය හඳුනන සේක. එහි ඇතිවීම දන්නා සේක. එසේ ම වේදනා, සංඥා, සංස්කාර, විඤ්ඤාණ ආදීන්ගේ සියලු ස්වභාව දන්නා සේක. ඇති වීම දන්නා සේක. නැති වීම දන්නා සේක. ඒවායේ මුල් සිඳින ලද සේක. මුදුන සිඳින ලද තල් ගසක් මෙන් සිඳින ලද සේක. විනාශ කරන ලද සේක. මතු නූපදනා බවට පමුණුවන ලද සේක. එහෙයින් තථාගතයන් වහන්සේ මහ මුහුද මෙන් ගුණයෙන් ගැඹුරු ය. ප්‍රමාණ කළ නොහැක්කේ ය. බැසගැනීමට දුෂ්කර ය. උපදී යැයි කීමට ද නුසුදුසු ය. නූපදී යැයි කීමට ද නුසුදුසු ය. උපදී යැයි ද නූපදී යැයි ද කිමට ද  නුසුදුසු ය. උපදී ද නූපදින්නේ ද නොවේ ය යැයි කීමට ද නුසුදුසු ය (ම.නි. iii, අග්ගිවච්ඡගොත්ත සුත්ත).

## ත්‍රිවිධ ලක්ෂණ

"තථාගතයන් වහන්සේ උපන් කල හෝ නූපන් කල හෝ සියලු සංස්කාර අනිත්‍ය ය. සියලු සංස්කාර දුක ය. සියලු සංස්කාර අනාත්ම ය යන මේ ධර්ම ස්වභාවය, ධර්ම නියාමයක් ලෙස ඇත්තේම ය" (අ.නි. 1, යෝධාජීව වග්ග චතුත්ථ සුත්ත).

සංඛාර යන වචනයෙන් හේතු ප්‍රත්‍යයකට යටත් වූ හෝ ප්‍රතිසම්පාදිත වූ සැම දෙයක්ම මෙහි ගැනේ (සංඛත ධම්ම) එක ම පැවැත්මට අයත්, ගතහැකි වූ සැම කායික හා චෛතසික අංශයක් ම වේ. හේතු ප්‍රත්‍යයට යටත් නොවූ හෙවත් අසංඛත වූ නිර්වාණය ද ඇතුළත් වන බැවින් ධම්ම යන වචනය වඩාත් පුළුල් වශයෙන් යෙදී ඇත. එය සර්ව සාධාරණ ය. නිර්වාණය ස්ථිර වු ද, විපරිණාමයට යටත් නොවූ ද දෙයක් බැවින් සෑම ධර්මයක් ම අස්ථිරය, විපරිණාම ධර්මයට යටත් ය යනාදි වශයෙන් කීම දොස් සහිත ය. එම හේතුවෙන්ම සෑම සංස්කාර පමණක් නොව සෑම ධර්මයක් ම (අසංඛත ධර්ම ද ඇතුළත් ව) අනාත්ම බව කීම නිවැරදි ය.

නිත්‍ය වූ, ස්ථිර වූ, සියලු කල්හි පවත්නා වූ, නොපෙනෙන ස්වභාව පවත්නා වූ සදාතන මෙන් සිටින්නා වූ යම් කිසි රූපයක්, වේදනාවක්, සංඥවක්, සංස්කාරයක්, විඤ්ඤාණයක් නැත්තේ ම ය. එබඳු නිත්‍ය වූ, ස්ථිර වූ හැම කල්හි පවත්නා වූ නොපෙරළෙන ස්වභාව ඇත්තා වු යම් කිසිවක් මේ ලෝකයෙහි නැණවත් මිනිස්සු නොපිළිගනිති. මම ද එසේ ම ප්‍රකාශ කරමි (ස.නි. iii, පුප්ඵ සුත්ත).

යහපත් නිවැරදි දැකීමෙන් යුක්ත වූවකු කිසියම් දෙයක් ආත්ම යැයි විශ්වාස කිරීම නොවිය හැකිය.(අ.නි. අට්ඨානපාලි, පඨම සුත්ත)

ආත්මය පිළිබඳ මත

යමෙක් වේදනාව මාගේ ආත්මය යැයි කියයි ද ඔහුට මෙසේ පිළිතුරු දිය යුතු වන්නේ ය. මේ වේදනාව තුන් ආකාරවේ. සැප වේදනාව, දුක් වේදනාව, උපේක්ෂා වේදනාව යන මේවා ය. මේ තුන් වැදෑරුම් වේදනා අතුරින් කවර නම් වේදනාවක් ආත්ම වශයෙන් දකී දැයි ඇසිය යුතු යි. කුමක් හෙයින් ද? යම් කලෙක මෙයින් වේදනාවක් විඳී ද එකල ඉතිරි වේදනා දෙක නොවිඳී. මේ තුන් ආකාර වේදනාව අනිත්‍යය. ප්‍රත්‍ය හේතුවෙන් ඉපදෙමින් ගෙවී යාම ස්වභාව කොට ඇත්තේ ය. නැති වීම ස්වභාව කොට ඇත්තේ ය. වැනසීම ස්වභාව කොට ඇත්තේ ය. මේ තුන් ආකාර වේදනාවන්ගෙන් එකක් විඳින්නාහට ''එය මාගේ ආත්මය යැයි සිතෙයි'' නම් ''එය නැති වීමෙන් පසු මාගේ ආත්මය නැති වී ගියේ ය'' යැයි ඔහු පිළිගත යුතු යි. මෙසේ ඒ පුද්ගලයා මේ ආත්මයේ දී ම අනිත්‍ය වූ ද, සැප දුක් දෙක හා මිශ්‍ර වූ ද ඉපදීම හා වැනසීම ස්වභාව කොට ඇති වූ යමක් ආත්මය යැයි දකී. මේ දැක් වූ කාරණයන්ගෙන් වේදනාව මාගේ ආත්මය යැයි දැකීමට සුදුසු නොවෙයි. යම් කෙනෙක් වේදනාව මගේ ආත්මය නොවේ ය. මාගේ ආත්මය විඳින ස්වභාවයක් නැත්තේ යැයි කියයි ද, ඔහුට මෙසේ කිය යුතු වන්නේ ය. "යම් තැනක විඳීමක් නැත්තේ ද එහි මම වෙමි යි යන මේ අදහස ඇති වන්නේ ද" කියා යි. යම් කෙනෙක් විඳිම මාගේ ආත්මය නොවෙයි, මාගේ ආත්මය නොවිඳින ස්වභාවය ද නොවෙයි. මාගේ ආත්මය විඳිනු ලබයි. විඳීම ස්වභාව කොට ඇත්තේ යැයි කියයිද ඔහුට මෙසේ කිවයුතු වන්නේය. විඳීම් ස්වභාවය සම්පූර්ණයෙන් නැතිවන්නේ නම් එසේ ම විඳීම් නැති කල්හි කිසියම් වේදනාවක් නැති කල්හි මම වෙමි'යි යන අදහස ඇති විය හැකි ද කියා යි (දී.නි. ii, මහානිදාන සුත්ත).

මනෝ විඥ්ඥාණය ආත්මය යැයි යමෙක් කියන්නේ නම් එය නොයෙදෙන්නේ ය. කුමක් හෙයින් ද මනෝ විඥ්ඥාණයේ ඉපදීම ද විනාශය ද පෙනෙන්නේ ය. යමක ඉපදීම ද විනාශය ද පෙනේ

නම් මේ මගේ ආත්මය උපදී විනාශ වේ යන මේ කාරණය ඊට අදාළ වේ (ම.නි. iii, ඡඡක්ක සුත්ත).

අශ්‍රැතවත් පෘථග්ජන තෙම සිතට වඩා මේ සතර මහා ධාතුන්ගෙන් සැදි කය ම ආත්මය ලෙස සැලකීම හොඳ ය. ඊට හේතු කවරේ ද? සතර මහා ධාතුවෙන් පටන් ගත්තා වූ අවුරුද්දක්, දෑවුරුද්දක්, තුන් අවුරුද්දක්, සතර අවුරුද්දක්, පස් අවුරුද්දක්, දස අවුරුද්දක් හෝ අවුරුදු සියයක් හෝ ඊට වැඩි කාලයක් වුව පවතින මේ කය දක්නට ලැබෙයි. එහෙත් යමක් සිත යැයි කියනු ලැබේ ද, මනස යැයි කියනු ලැබේ ද, විඤ්ඤාණ යැයි කියනු ලැබේ ද, ඒ සිත රෑ ද දහවල් ද අනෙකක් පසුව අනෙකක් ව උපදී, අනෙකක් පසුව අනෙකක් ව නිරුද්ධ වේ (ස.නි. ii, අස්සුතවන්තු සුත්ත).

එහෙයින් අතීත වූ හෝ වර්තමාන වූ හෝ අනාගත වූ හෝ බාහිර වූ හෝ මහත් වූ හෝ සියුම් වූ හෝ උසස් වූ හෝ හීන වූ හෝ යම් කිසි රූපයක් වේ ද, වේදනාවක් වේ ද, සංඥුවක් වේ ද, සංස්කාර වේ ද, විඤ්ඤාණ වේ ද, මාගේ නොවේ, මේ මම නොවෙමි, මේ මාගේ ආත්මය නොවේ යයි මෙසේ මේ සියලු ස්කන්ධ තත් වූ පරිද්දෙන් දැකිය යුතු යි (ස.නි. iii, පංච වග්ගිය සුත්ත)

දුක ඇති නමුත් දුක විඳිනා කෙනෙක් නැත
කර්මය ඇති නමුත් කරනා කෙනෙක් නැත
නිවන ඇති නමුත් පිවිසෙන කෙනෙක් නැත
මඟ ඇති නමුදු එහි යන්නා කෙනෙක් නැත

(විසුද්ධ මග්ග xvi ඇසුරින්)

අතීත වර්තමාන අනාගත

යමෙක් ඔබගෙන් මෙසේ අසන්නාහු ය. ඔබ අතීතයෙහි වූයෙහි ද, ඔබ නොවුයේ නොවෙහි ද, ඔබ අනාගතයෙහි නොවන්නෙහි ද, ඔබ නොවන්නේ නොවන්නෙහි ද, ඔබ දැන් ඇත්තෙහි ද ඔබ නැත්තේ නොවේ දැයි මෙසේ අසන ලද්ද වූ ඔබ මෙසේ ප්‍රකාශ කරන්නෙහි ය. මම අතීතයෙහි වූවෙමි. මම නොවූයේ නොවෙමි. මම අනාගතයෙහි වන්නෙමි. මම නොවන්නේ නොවෙමි. මම දැන් ඇත්තේ වෙමි. මම නැත්තේ නොවෙමි. යම් අතීත වූ ආත්මය ලැබීමක් වී ද, ඒ ආත්මය ලැබීම ඒ කාලයේ ඇත්තේ ම විය. අනාගතයෙහි හෝ වර්තමානයෙහි ඒ ආත්මය ලැබීමක් නොවන්නේ ය. අනාගත වූ ආත්ම ලැබීමක් වන්නේ ද අනාගත ආත්මය ඒ කාලයෙහි වන්නේ ය. අතීතයෙහි ද වර්තමානයෙහි ද ඒ ආත්ම ලැබීම නැත්තේ ය. වර්තමානයෙහි යම් ආත්මය ලැබීමක් වේ ද, ඒ ආත්ම ලැබීම වර්තමානයෙහි වේ. අතීතයෙහි හෝ අනාගතයෙහි ඒ ආත්මය ලැබීම නොවන්නේ ය (දී.නි.I, පොට්ඨපාද සුත්ත).

යමෙක් පටිච්ච සමුප්පාදය දකී ද හෙතෙම සත්‍යය දකී. යමෙක් සත්‍යය දකී ද හෙතෙම පටිච්චසමුප්පාදය දකී. (ම.නි. I, මහාහත්ථිපදෝපම සුත්ත).

යම්සේ දෙනගෙන් කිරි ද, කිරෙන් දී ද, දීයෙන් වෙඬරු ද, වෙඬරුවෙන් ගිතෙල් ද, ගිතෙලින් ගිතෙල් මණ්ඩිය ද වෙයි ද, යම් කාලයක කිරි වේ ද, එකල දී යන ස්වභාවයට නොපැමිණේ ද වෙඬරු, ගිතෙල්, ගිතෙල් මණ්ඩ යන ස්වභාවයට නොපැමිණේ ද එකල කිරි යන ස්වභාවයට ම පැමිණේ ද, යම් කලෙක දී මේදය වේ ද, එකල කිරි, වෙඬරු, ගිතෙල් මණ්ඩ යන ස්වභාවයට නොපැමිණේ ද, එකල දී යන ස්වභාවයට පැමිණේ ද, එමෙන් ම යම් කලෙක අතීත භවයෙහි ආත්ම ලැබීමක් වේ ද එයම වර්තමාන, අනාගත, ආත්ම භවයක් වීම නොවන්නේ ය. අනාගත

ආත්ම භවයකට පැමිණේ ද එවිට එය ම වන්නේ ය. අතීත, වර්තමාන භවයක් නොවන්නේ ය. යම් කලෙක වර්තමාන භවයක් වේ ද එවිට අතීත, අනාගත භවයක් නොවන්නේ ය. මේ සියල්ලම ලෝකයාගේ නාම වේ ය. ලෝකයාගේ වචන වේ ය. ලෝක ව්‍යවහාර වේ ය. තථාගතයන් වහන්සේ මෙහි නොබැඳෙමින් මේවා ව්‍යවහාර කරති (දී.නි. පොට්ඨපාද සුත්ත).

රූපය, වේදනාව, සංඥාව, සංස්කාර, විඤ්ඤාණ තත් වූ පරිද්දෙන් නොදකින්නා හට එහි නිරෝධය තත් වූ පරිද්දෙන් නොදන්නා හට, නොදක්නා හට නිරෝධයට පැමිණෙන ප්‍රතිපදාව තත් වූ පරිද්දෙන් නොදන්නා හට නොදක්නා හට භාග්‍යවතුන් වහන්සේ මරණින් මතු වන්නේ ය කියා හෝ නොවන්නේ ය කියා හෝ සිතෙයි (ස.නි. ඛේමාථේරී සුත්ත).

## අන්ත දෙක හා මධ්‍යම ප්‍රතිපදාව

යමෙක් ජීවයත් එය ය, ශරීරයත් එය ම යැයි යන දෘෂ්ටිය ඇති කල්හි ආර්ය මාර්ගයට පැමිණීමක් නොවේ. ජීවය අනෙකකි, ශරීරය අනෙකකි යන දෘෂ්ටිය ඇති කල්හි හෝ ආර්ය මාර්ගයට පැමිණීමක් නොවේ. ඒ මේ අන්ත දෙකට නොපැමිණ තථාගතයන් වහන්සේ මධ්‍යම ප්‍රතිපදාව දේශනා කොට තිබේ (ස.නි. ii, භූමිජ සුත්ත).

## පටිච්ච සමුප්පාදය

අවිද්‍යාව නිසා සංස්කාර ද, සංස්කාර නිසා විඤ්ඤාණ ද, විඤ්ඤාණ නිසා නාමරූප ද, නාමරූප නිසා සළායතන ද, සළායතන නිසා ස්පර්ශය ද, ස්පර්ශය නිසා වේදනාව ද, වේදනාව නිසා තණ්හාව ද, තණ්හාව නිසා උපාදානය ද, උපාදානය නිසා භවය ද, භවය නිසා උත්පත්තිය ද, උත්පත්තිය නිසා ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ දෝමනස්ස සහ උපායාස ද ඇති වෙයි.

මෙසේ මේ සියලු දුක් ගොඩ ඇති වීමක් වෙයි (ස.නි. ii, බුද්ධ වග්ගය).

මේ භව චක්‍රය කිසියම් දෙවියකු හෝ බඹකු විසින් නිර්මිත කරන ලද්දක් නොව, හිස් වූ ද හේතු ප්‍රත්‍යයට යටත් වූ ද භාව ප්‍රවෘත්ති පද්ධතියක පෙරළීමකි (විසුද්ධිමග්ග).

යම් කලෙක ආර්ය ශ්‍රාවකයාගේ අවිද්‍යාව නැතිවූයේ වෙයි ද, අර්හත් මාර්ග ඥානය පහළවූයේ වෙයි ද, හෙතෙම අවිද්‍යාව දුරු වීමත් අර්හත් මාර්ග ඥානය ලැබීමත් හේතු කොටගෙන කුශල කර්ම ද රැස් නොකරයි. අකුශල කර්ම ද රැස් නොකරයි. අරූපාවචර කර්ම ද රැස් නොකරයි (ස.නි. vi, දුක්ඛ වග්ග, පරිවීමංසක සුත්ත).

සංඛාර යන පදයට මෙහි කර්ම ප්‍රතිසම්පාදනය යන අර්ථය දී ඇත්තේ, පටිච්ච සමුප්පාදයේ දී සංඛාරා යන්නෙන් හඟවන්නේ කුසලාකුසල හෙවත් චෛතසික ක්‍රියා හෙවත් කෙටියෙන් කියතොත් කර්මය බැවිනි.

ඉහත සඳහන් පාඨයෙහි දැක්වුණු ත්‍රිවිධ සංස්කාරයෙහි සකල භවයන්හි හෝ විඤ්ඤාණ පථයන්හි කර්මය පිළිබඳ ක්‍රියාකාරිත්වය අඩංගු වේ. කුසල කර්ම ප්‍රතිසම්පාදනය රූපාවචර භවය දක්වා ම සඳහන් කෙරෙන අතර, අකම්ප්‍ය කර්ම ප්‍රතිසම්පාදනය (අනෙඤ්ජාභි සංස්කාර) අරූපාවචර භවය ගැන පමණක් සඳහන් කෙරේ.

අවිද්‍යාව මුළුමනින් ම නැති වීමෙන් සංස්කාරයන්ගේ නැති වීම ද, සංස්කාරයන්ගේ නැති වීමෙන් විඤ්ඤාණය නැති වීම ද, විඤ්ඤාණයේ නැති වීමෙන් නාමරූපයන් නැති වීම ද, නාමරූපයන්ගේ නැති වීමෙන් සළායතනයන්ගේ නැති වීම ද, සළායතනයන්ගේ නැති වීමෙන් ස්පර්ශය නැති වීම ද, ස්පර්ශය නැති වීමෙන් වේදනාව නැති වීම ද, වේදනාව නැති වීමෙන්

තණ්හාව නැති වීමද, තණ්හාව නැති වීමෙන් උපාදනය නැති විම ද, උපාදානය නැති වීමෙන් භවය නැති වීම ද, භවය නැති වීමෙන් ජාතිය (උත්පත්තිය) නැති වීම ද, ජාතිය නැති වීමෙන් ජරා, මරණ, ශෝක, පරිදේව, දුක් දොම්නස් සහ උපායාසයන් නැති වීම ද වේ. මෙසේ මේ සියලු දුක් නැති වීම වෙයි. මෙය දුක් නැති කිරීම නම් වූ ආර්ය සත්‍යය වේ (ස.නි.ii, බුද්ධවග්ග පටිච්චසමුප්පාද සුත්ත).

## උත්පත්තිය සිදු කරන කර්ම

අවිද්‍යාවෙන් වැසී තණ්හාවෙන් බැඳී සැරිසරන්නා වූ සත්ත්වයන්ගේ මේ සංසාරය නොදක්නා ලද අග ඇත්තේ වෙයි (ම.නි. I, මහාවේදල්ල සුත්ත).

ලෝභයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් හටගත්තා වූ ද ඒවා කරණ කොට කරන ලද්ද වූ ද ඒවා ප්‍රත්‍යය කොට ඇත්තා වූ ද යම් කර්මයක් වේ ද, යම් තැනෙක්හි එය කළහුගේ උත්පත්තියක් වේ ද එහි ඒ කර්මය විපාක දෙයි. ඒ කර්මයාගේ විපාකය මේ ආත්ම භවයෙහි හෝ අනාගතයෙහි යම් යම් ආත්ම භවයක හෝ විපාක දෙයි (අ.නි. I, දේවදූත වග්ග චතුත්ථ සුත්ත).

## කර්මයාගේ ක්ෂයවීම

අවිද්‍යාව නැති වීමෙන් ප්‍රඥාව ඇතිවීමෙන් තෘෂ්ණාව නැති වීමෙන් නැවත උත්පත්තියක් ඇති නොවන්නේය (ම.නි. I, මහාවේදල්ල සුත්ත).

අලෝභයෙන්, අද්වේෂයෙන්, අමෝහයෙන් කරන ලද්දා වූ හටගත්තා වූ නිදාන කොට ඇත්තා වූ යම් කර්මයක් වේ ද ලෝභය, ද්වේෂය, මෝහය නැති වූ කල්හි මෙසේ ඒ කර්මය ප්‍රහීණවේ. උදුරා හරින ලද මුල් ඇත්තේ වේ. මුඳුන සිඳින ලද තල්

ගසක් මෙන් කරන ලද්දේය. නැවත ලියලන්නේ නොවේ (අ.නි. I, දේවදූත වග්ග චතුත්ථ සුත්ත).

මේ කරුණෙන් මා සම්පූර්ණයෙන් නැති කිරීමක් උගන්වන්නේ යයිද හෝ සම්පූර්ණ නැති කිරීමක් සඳහා දේශනා කරන්නේ යැයි ද හෝ ශ්‍රාවක පිරිස ද ඊට ම යොමු කරවන්නේ යැයි ද කියා යමෙක් කියන්නේ ද ඔහු සත්‍යයක්ම කියන්නේ ය. ස්ථිර වශයෙන් ම සම්පූර්ණ නැතිකිරීමක් දේශනා කරමි. කුමක් සම්පූර්ණ නැතිකිරීමක් ද? ලෝභ, ද්වේෂ, මෝහ සහ නොයෙකුත් සාවද්‍ය සැම දෙයක ම සම්පූර්ණ නැති කිරීමක් ය (අ.නි. V, සීහ සේනාපති සුත්ත).

හේතුවක් නිසා ඇති වීම යන පටිච්ච සමුප්පාදය වනාහි සියලුම කායික හා චෛතසික ස්වභාව පිළිබඳ වූ හේතු ඵල ඉගැන්වීම යි. මේ හේතු ඵල වාදය පමණක් නොව අනාත්ම වාදය ද බුදුරජාණන් වහන්සේගේ ඉගැන්වීම යථා තත්ත්වයෙන් තේරුම් ගැනීම සඳහා ද අවබෝධ කරගැනීම සඳහා ද අත්‍යවශ්‍ය ව ඇත. සම්මුති වශයෙන් මිනිසා යැයි තිරිසනා යැයි කියනු ලබන විවිධ කායික හා චෛතසික ජීවිත ප්‍රවෘත්තීන් අහම්බෙන් හෝ ඉබේ සිදු වූ ක්‍රියාකාරිත්වයන් නොව හේතූන් හා ප්‍රත්‍යයන්ගෙන් සිදු වූ ක්‍රියාකාරිත්වයන් බව පටිච්ච සමුප්පාදය පෙන්වා දෙයි. මේ සියල්ලට ම වඩා පටිච්ච සමුප්පාදය වනාහි පුනරුත්පත්තිය හා දුක හේතු මත රඳා පවත්නා ආකාරය පැහැදිලි කරදෙයි. එහි දෙවැනි කොටසින් යට කී හේතූන් නැති කිරීමෙන් සියලු දුක් නැති විය යුතු බව ද පටිච්ච සමුපපාදය පෙන්නුම් කරයි. එහෙයින් පටිච්ච සමුප්පාදය දෙවැනි හා තුන්වැනි ආර්ය සත්‍යයන් ඒවායේ පදනමේ සිට ඉහළට පැහැදිලි කිරීමෙන් ද ඒවාට ස්ථිර දර්ශනික ස්වරූපයක් දෙමින් ද ඒවා මැනැවින් පැහැදිලි කිරීමට උපකාරී වේ.

හේතු ඵල වාදයෙහි පිරිද්දීම් වශයෙන් ඇති පුරුක් දෙළොස අතීත, වර්තමාන, අනාගත, භවයෙන් භවයට ගැළපී යන අයුරු පහත ඇති සටහනෙන් එක වර පෙනේ.

| | | |
|---|---|---|
| අතීත භවය | 1. අවිජ්ජා<br>2. සංඛාර | කර්ම භව<br>හේතු පස<br>1, 2, 8, 9, 10 |
| වර්තමාන භවය | 3. විඤ්ඤාණං<br>4. නාම රූපං<br>5. ආයතනං<br>6. ඵස්සො<br>7. වේදනා | උප්පත්ති භව<br>ඵල පස 3, 4, 5, 6, 7 |
| | 8. තණ්හා<br>9. උපාදානං<br>10 භවො | කර්ම භව<br>හේතු පස<br>1,2,8,9,10, |
| අනාගත භවය, | 11. ජාති<br>12. ජරා මරණං | උප්පත්ති භව<br>ඵල පස |

ගැළපීම් 1 - 2 සහ 8 - 10 ද පුනරුත්පත්තියේ කර්ම හේතු පස ඇතුළත් කර්ම භවය දක්වයි.

ගැළපීම් 3 - 7 සහ 11 - 12 කර්ම ඵල පස ඇතුළත් උප්පත්ති භවය දක්වයි.

එහෙයින් පටිසම්භිදා මග්ගයෙහි මෙසේ දක්වා තිබේ. අතීත භවයේ හේතු පසක් විය. එහෙයින් වර්තමාන භවයේ දී ඵල පසක් ද වේ. දැන් මේ භවයේ දී අප හේතුන් පසක් ජනිත කරන හෙයින් අනාගත භවයේ දී ඵල පසක් විපාක වශයෙන් ලබන්නෙමු.

# දෙවැනි පියවර

# නිවැරදි කල්පනාව (සම්මා සංකප්ප)

නිවැරදි කල්පනාව නම් කවරේ ද?

1. නෛෂ්ක්‍රම්‍ය (කම් සැප අත් හැරීමේ) සංකල්පනාව
2. අව්‍යාපාද (ද්වේෂ නොකිරීමේ) සංකල්පනාව
3. අවිහිංසා (හිංසා නොකිරීමේ) සංකල්පනාව

යන මේ සංකල්පනා ය. (දී.නි. ii, සතිපට්ඨාන සුත්ත)

## ලෞකික හා ලෝකෝත්තර සිතිවිලි

ආශ්‍රව සහිත වූ පුණ්‍ය ප්‍රතිපදාවට අයත් වූ විපාක දෙන්නා වූ නිවැරදි සංකල්පනාවක් ඇත. නිදෙස් වූ ආශ්‍රව රහිත වූ ලෝකෝත්තර මාර්ග අංගයක් වූ නිවැරදි සංකල්පනාවක් ඇත. නිදෙස් සිත් ඇත්තහුගේ, ආශ්‍රව රහිත සිත් ඇත්තහුගේ, ආර්ය මාර්ගයෙන් යුක්ත වූවහුගේ ආර්ය මාර්ගය වඩන්නහුගේ යම් කල්පනාවක් වේ ද, විතර්කයක් වේද, සංකල්පනාවක් වේ ද, අර්පණාවක් වේ ද, විශේෂයෙන් අරමුණට නැඟීමක් වේ ද, වාග් සංස්කාරයක් වේ ද, මෙය නිදොස් වූ ආශ්‍රව රහිත වූ ලෝකෝත්තර මාර්ග අංගයක් වූ නිවැරදි සංකල්පනාව යි.

## වෙනත් පියවර හා ඒකාබද්ධ වූ

හෙතෙම මිථ්‍යා කල්පනාව මිථ්‍යා කල්පනාව යැයි දැනගනී ද නිවැරදි කල්පනාව නිවැරදි කල්පනාව යැයි දැනගනි ද එය ඔහුගේ නිවැරදි දෘෂ්ටිය වන්නේය. හෙතෙම මිථ්‍යා කල්පනාව ප්‍රහාණය කිරීමට හා නිවැරදි කල්පනාව වැඩීමට වෑයම් කෙරේ ද එය ඔහුගේ නිවැරදි වෑයම වේ. හෙතෙම සිහියෙන් යුක්ත ව මිථ්‍යා කල්පනාව දුරු කෙරේ ද සිහියෙන් යුක්ත ව නිවැරදි කල්පනාවට පැමිණ වාසය කෙරේ ද එය ඔහුගේ නිවැරදි සතිය වේ. එහෙයින් මේ ධර්මයන් තිදෙන එනම් නිවැරදි දෘෂ්ටිය, නිවැරදි වෑයම හා නිවැරදි සතිය නිවැරදි කල්පනාව අනුව පවති (ම.නි. iii, මහාචත්තාරීසක සුත්ත).

# තුන්වැනි පියවර
# නිවැරදි වචන (සම්මා වාචා)

නිවැරදි වචන නම් කවරේ ද?
බොරු කීමෙන් වැළකීම, කේලාම් කීමෙන් වැළකීම, හිස් වචන කීමෙන් වැළකීම හා පරුෂ වචන කීමෙන් වැළකීම.
(දී.නි.ii, මහසතිපට්ඨාන සුත්ත)

## 1. බොරු කීමෙන් වැළකීම

මේ ලෝකයේ ඇතැම් කෙනෙක් බොරු නොකියයි ද සභාවකට ගියේ හෝ පිරිසක් ඉදිරියට ගියේ හෝ නෑයන් මැදට ගියේ හෝ පිරිස් මැදට ගියේ හෝ රජ කුලයක් මැදට ගියේ හෝ පමුණුවන ලද්දේ හෝ "එම්බා පුරුෂය, එව යමක් දන්නෙහි නම් එය කියව" යි කියන ලද්දේ හෙතෙම යමක් නොදනී නම් "නොදනිමි"යි කියයි. දනී  නම් "දනිමි"යි කියයි. යමක් දැක නැති නම් "දැක නැතැ"යි කියයි. දැක ඇතිනම් "දැක ඇතැ"යි කියයි. මෙසේ තමන්ගේ වාසියක් හේතු කොට හෝ අන්‍යයන්ගේ වාසියක් හේතු කොටගෙන හෝ ආමිස ආදි කිසි ලාභයක් බලාපොරොත්තුවෙන් හෝ දැන දැන බොරු නොකියයි (අ.නි. vi, චුන්ද සුත්ත).

## 2. කේලාම් කීමෙන් වැළකීම

හෙතෙම කේලාම් කීම අත්හැර කේලාම් කීමෙන් වෙන් වෙයි. මෙහිදී ඇසූ දේ භේදයකට හේතු වන සේ එහි දී නොකියයි. එහි දී ඇසූ දේ භේදයකට හේතු වන සේ මෙහි දී නොකියයි. හෙතෙම භේද වූවන් සමඟි වූවන් කරයි. සමගි වූවන්ට එසේ සිටීමට අනුබල දෙයි. සමඟිය ඔහු පිනවයි. මහත් සොම්නසට හා ප්‍රමෝදයට පත් කරයි. ඔහුගේ වචනවලින් ඔහු පතුරුවන්නේ සමඟිය යි.

3. පරුෂ වචනයෙන් වැළකීම

පරුෂ වචන කීම අත්හැර පරුෂ වචන කීමෙන් වෙන්වෙයි. යම් ඒ වචනයක් මෘදු ද, කනට ප්‍රිය ද, හෘදයංගම ද, ශිෂ්ඨසම්පන්න ද, බොහෝ ජනයාට ප්‍රියමනාප ද එබඳු වචනයක් ම කියයි.

මජ්ඣිම නිකායේ එන පරිදි බුදුරජාණන් වහන්සේ මෙසේ දේශනා කොට තිබේ.

"මහණෙනි, සොරුන් සහ මිනීමරුවන් විසින් තම අත්පා, හන්දි කපන ලද කල යමෙක් එයින් කෝපයට පත් වේ ද, හෙතෙම මාගේ අවවාදය නොපිළිපදී. ඒ මන්ද? ඔබ මෙසේ හික්මිය යුතු බැවිනි. අපගේ සිත් සන්සුන් විය යුතු ය. මුවෙන් අයහපත් වචනයකුදු පිට නොවිය යුතු ය. සැඟවුණු දුෂ්ට අදහසක් නොමැති මෛත්‍රී සහගත සිතින් යුතු ව මහත් දයානුකම්පාවෙන් හා මිත්‍රත්වයකින් අප සිටිය යුතු යි" (ම.නි. I, කකචූපම සුත්ත).

4. හිස් වචන කීමෙන් වැළකීම

ප්‍රලාප දෙඩීම අත්හැර ප්‍රලාප දෙඩීමෙන් වෙන් වෙයි. හෙතෙම යමක් සුදුසු කල්හි කියයි. සිදුවූ දේ ම කියයි. යහපත් දේ කියයි. ධර්ම විනය කියයි. ඔහුගේ වචන නිධානයක් වැනි ය. නිසි මොහොතෙහි කියන ලද්දකි. කරුණු සහිත යි. සීමිත යි. යහපතින් පරිපූර්ණ යි. මෙය නිවැරදි වචන යැයි කියනු ලැබේ.

## ලෞකික හා ලෝකෝත්තර නිවැරදි වචනය

නිවැරදි වචනය දෙවැදෑරුම් යැයි කියමි.

1. බොරු කීමෙන් වැළකීම, කේලාම් කීමෙන් වැළකීම, පරුෂ වචනයෙන් වැළකීම, හිස් වචනයෙන් වැළකීම යන මෙය ලෞකික ඵල සහ සුබ විපාක ගෙන දෙන ස්වභාවය ඇති ලෞකික නිවැරදි වචනය යි.

2. චතුර්විධ වාග් දුශ්චරිතයන්ගෙන් වෙන් වීමක් වේ ද, වැඩියක් ම වෙන් වීමක් වේ ද, ප්‍රතිපක්ෂ ලෙස ම වෙන් විමක් වේ ද, සම්පූර්ණයෙන් ඈත් වීමක් වේ ද, මෙය නිදෙස් වූ ආශ්‍රව රහිත වූ ලෝකෝත්තර මාර්ග අංගයක් වූ නිවැරදි වචනය යි.

## වෙනත් පියවර හා ඒකාබද්ධ වූ

මිථ්‍යා වචනය මිථ්‍යා වචනය යැයි දනී ද නිවැරදි වචනය නිවැරදි වචනය යැයි දනී ද ඒ නිවැරදි දෘෂ්ටිය වෙයි. මිථ්‍යා වචනය ප්‍රහාණය කිරීමට හා නිවැරදි වචනය වැඩීමට වෑයම් කෙරේ ද, එය නිවැරදි වෑයම වෙයි. සිහියෙන් යුක්ත ව මිථ්‍යා වචනය දුරුකෙරේ ද, නිවැරදි වචනයට පැමිණ වාසය කෙරේ ද එය නිවැරදි සතිය වේ. මෙසේ නිවැරදි දෘෂ්ටිය, නිවැරදි වෑයම, නිවැරදි සති යන මේ ධර්ම තුන නිවැරදි වචනය කැටුව ඒ අනුව පවතී.
(ම.නි. iii, චත්තාරිසක සුත්ත)

# සතරවැනි පියවර

# නිවැරදි ක්‍රියා (සම්මා කම්මන්ත)

නිවැරදි ක්‍රියා නම් කවරේ ද?
ප්‍රාණඝාතයෙන් වැළකීම,
සොරකම් කිරීමෙන් වැළකීම,
කාමයෙහි වරදවා හැසිරීමෙන් වැළකීම
(දී.නි. ii, මහාසතිපට්ඨාන සුත්ත)

## ප්‍රාණඝාතයෙන් වැළකීම

මේ ලෝකයේ ඇතැම් කෙනෙක් සතුන් මැරීම අත්හැර සතුන් මැරීමෙන් වෙන්වූයේ ද, බහා තබන ලද දඬු ඇත්තේ, බහා තබන ලද ආයුධ ඇත්තේ සියලු ප්‍රාණීන් කෙරෙහි දයාවෙන් අනුකම්පාවෙන් යුක්ත ව වාසය කරයි.

## සොරකම් කිරීමෙන් වැළකීම

මේ ලෝකයෙහි ඇතැම් කෙනෙක් සොරකම් කිරීම අත්හැර සොරකම් කිරීමෙන් වෙන් වූයේ ද, ගමෙහි හෝ වනාන්තරයෙහි දී හෝ කෙනකු සතු වස්තුව හෝ බඩු බාහිරාදිය සොර සිතින් නොගනී.

## කාම මිථ්‍යාචාරයෙන් වැළකීම

මේ ලෝකයෙහි ඇතැම් කෙනෙක් කාම මිථ්‍යාචාරය අත්හැර කාම මිථ්‍යාචාරයෙන් වෙන් වූයේ ද පියා විසින් රක්නා ලද හෝ මව විසින් රක්නා ලද හෝ සහෝදරයා විසින් රක්නා ලද හෝ සහෝදරිය විසින් රක්නා ලද හෝ ඥාතීන් විසින් රක්නා ලද

විවාහවූ හෝ දඬුවම් නියම කරනු ලැබූ හෝ යටත් පිරිසෙයින් සරණ ගිවිසගත් හෝ යම් තැනැත්තියක් වේ ද, එබඳු වූවන් සමඟ මෛථුන සේවනයෙහි නොහැසිරෙන්නේ වේ. මෙය නිවැරදි ක්‍රියා යි.

නිවැරදි ක්‍රියා වනාහි දෙවැදෑරුම් ය (අ.නි. vi, චුන්ද සුත්ත).

## ලෞකික සහ ලෝකෝත්තර නිවැරදි ක්‍රියා

ප්‍රාණඝාතයෙන් වෙන් වීම, නුදුන් දෙය ගැනීමෙන් වෙන් වීම, කාම මිථ්‍යාචාරයෙන් වෙන් වීම, වනාහි ආශ්‍රව සහිත වූ පුණ්‍ය ප්‍රතිපදාවට ඇතුළත් වූ යහපත් විපාක දෙන ස්වභාවය ඇත්තා වූ ලෞකික නිවැරදි ක්‍රියා යැයි කියනු ලැබේ.

ත්‍රිවිධ කාය දුශ්චරිතයන්ගෙන් වැඩියක් වෙන් වීමක් වේ ද, ප්‍රත්‍යක්ෂ ලෙස ම වෙන් වීමක් වේ ද, සම්පූර්ණයෙන් ඇත් වේ ද මෙය නිදොස් වූ ආශ්‍රව රහිත වූ ලෝකෝත්තර මාර්ගයක් වූ නිවැරදි ක්‍රියාව යි.

## වෙනත් පියවර හා ඒකාබද්ධ වූ

වැරදි ක්‍රියාව වැරදි ක්‍රියාව යැයි දැනගනී ද, නිවැරදි ක්‍රියාව නිවැරදි ක්‍රියාව යයි දැනගනී ද, එය නිවැරදි දෘෂ්ටිය වේ. වැරදි ක්‍රියාවන්ගෙන් වැළකීම ද, නිවැරදි ක්‍රියා කිරීමට උත්සාහ කිරීම ද නිවැරදි වෑයම වේ. සිහියෙන් යුක්ත වූයේ වැරදි ක්‍රියා අත්හැර යහපත් ක්‍රියාවට පැමිණ වාසය කිරීම නිවැරදි සතිය වේ. මෙසේ මේ ධර්ම තුන යහපත් ක්‍රියාව අනුව පවතී. එනම් නිවැරදි දෘෂ්ටිය, නිවැරදි වෑයම, නිවැරදි සතිය යන තුන යි (ම.නි. iii, මහාචත්තාරීසක සුත්ත).

## පස්වැනි පියවර

# නිවැරදි දිවි පැවැත්ම (සම්මා ආජීව)

නිවැරදි දිවි පැවැත්ම නම් කවරේ ද?
මේ ශාසනයෙහි ආර්ය ශ්‍රාවක තෙමේ වරද සහිත වූ ජීවත්වීම අත්හැර නිවැරදි වූ අන්දමින් ජීවිකාව කෙරේ ද, මේ යහපත් දිවි පැවැත්ම යැයි කියනු ලැබේ (ම.නි. ii, මහාසතිපට්ඨාන සුත්ත).

මජ්ඣිම නිකායේ මෙසේ කියා ඇත. අන් අය හට වංචා කිරීම, ද්‍රෝහි වීම, සාස්තර කීම, බොරුවෙන් සැනසවීම, රැවටීමට උපක්‍රම යෙදීම, පොලියට දීම, ලාභ ප්‍රයෝජන සඳහා තමා තුළ නැති ගුණ පෙන්වීම යනාදිය මිථ්‍යා ආජීව නම් වේ. (ම.නි. iii, මහාචත්තාරීක සුත්ත). තව ද අංගුත්තර නිකායෙහි මෙසේ කියා ඇත. ශ්‍රාවකයා විසින් වැළකිය යුතු වෙළෙදාම් පසක් ඇත. පණ ඇති සත්වයින්, ආයුධ, මස්, රහමෙර හා වසවිස වෙළෙඳම් යනුවෙනි. යුධ භටයා, මසුන් මරන්නා හා දඩයම් කරන්නා ආදින්ගේ රක්ෂා ද ඇතුළත් වේ. (අ.නි. iii, වණිජ්ජා සුත්ත).

නිවැරදි දිවි පැවැත්ම දෙවැදෑරුම් යැයි කියමි

### ලෞකික හා ලෝකෝත්තර වූ නිවැරදි දිවි පැවැත්ම

මේ ශාසනයෙහි ආර්ය ශ්‍රාවක තෙමේ වැරදි දිවි පැවැත්ම අතහැර නිවැරදිව දිවි පවත්වයි ද, මෙය ආශ්‍රව සහිත වූ පුණ්‍ය ප්‍රතිපදාවෙහි ඇතුළත් වූ මෙලොව දීම විපාක දෙන ස්වභාව ඇත්තා වූ ලෞකික නිවැරදි දිවි පැවැත්මයි.

වැරදි දිවි පැවැත්මෙන් වෙන් වීමක් වේද, වැඩියක් ම වෙන් වීමක් වේ ද, ප්‍රත්‍යක්ෂ ලෙස වෙන් වීමක් වේ ද, සම්පූර්ණයෙන්

ඇත් වේ ද මෙය නිදෙස් වූ ආශ්‍රව රහිත වූ ලෝකෝත්තර මාර්ගයක් වූ නිවැරදි දිවි පැවැත්මයි.

## වෙනත් පියවර හා ඒකාබද්ධව

වැරදි දිවි පැවැත්ම වැරදි දිවි පැවැත්ම යැයි දැනගනී ද, නිවැරදි දිවි පැවැත්ම නිවැරදි දිවි පැවැත්ම යැයි දැනගනී ද, මෙය නිවැරදි දැකීමයි වේ. මේ වැරදි දැකීම පහ කිරීමට ද, නිවැරදි දැකීමට පැමිණීමට උත්සාහ කිරීම නිවැරදි වෑයම වේ. සිහියෙන් යුක්ත වූයේ වැරදි දිවි පැවැත්ම දුරු කර නිවැරදි දිවි පැවැත්මට පැමිණ වාසය කරයි ද එය නිවැරදි සතිය වේ. මෙසේ මේ ධර්ම තුන නිවැරදි දිවි පැවැත්ම අනුව පවතී. එනම් නිවැරදි දැකීම, නිවැරදි වෑයම, නිවැරදි සතිය යන තුන යි (ම.නි.iii, මහචත්තාරීසක සුත්ත).

# සවැනි පියවර

# නිවැරදි වෑයම (සම්මා වායාම)

නිවැරදි වෑයම යනු කවරේ ද?
නිවැරදි වෑයම් සතරක් වේ. එය සතර සම්‍යක් පධාන වීර්යය ලෙස හඳුන්වයි. එනම් නූපන් අකුසල් නූපදීම, උපන් අකුසල් දුරුකිරීම, නූපන් කුසල් ඉපදවීම හා උපන් කුසල් වැඩිදියුණු කිරීම වේ.

1. නූපන් අකුසල් නූපදවීම (සංවරපධානය)

නූපන් අකුසල් නූපදවීම යනු කවරේ ද? මේ ශාසනයෙහි මහණ තෙම නූපන් ළාමක අකුසල ධර්මයන්ගේ නූපදීම පිණිස කැමැත්ත උපදවයි ද, වෑයම් කරයි ද, වීර්යය ආරම්භ කරයි ද, සිත යොදවයි ද, වීර්ය කරයි ද එය යි. මේ ශාසනයෙහි මහණ තෙමේ ඇසින් රූපයක් දැක, කනින් ශබ්දයක් අසා, නාසයෙන් ගන්ධයක් ආඝ්‍රාණය කොට, දිවෙන් රසයක් විඳ, කයෙන් පහසක් විඳ, සිතින් ධර්මයක් දැන නිමිති නොගන්නෙක් වේ. අනුව්‍යඤ්ජන නොගන්නෙක් වේ. චක්ෂුසාදි ඉන්ද්‍රියන්හි අසංවරව හැසිරෙන්නහු කෙරෙහි අභිජ්ඣා දොමනස්ස ළාමක අකුශල ධර්ම නැවත නැවත පහළ වන හෙයිනි. මොවුන්ගේ සංවරය පිණිස පිළිපදී, චක්ෂුස ආදි ඉන්ද්‍රියන් රකියි. සංවරයට පැමිණෙයි.

2. උපන් අකුසල් දුරුකිරීම (ප්‍රහාණපධානය)

උපන් අකුසල් දුරුකිරීම කවරේ ද? මේ ශාසනයෙහි මහණ තෙම උපන් කාම විතර්කය නොඉවසයිද, දුරුකරයි ද, අත්හරී ද, එපා වුවක් කරයි ද, අභාවයට පමුණුවයි ද, උපන් විහිංසා විතර්කය නොඉවසයි ද, දුරුකරයි ද, අත්හරි ද, පහ වූවක් කරයි ද අභාවයට පමුණුවයි ද, උපනුපන් ළාමක අකුසල

විතර්ක නොඉවසයි ද, දුරු කරයි ද, අත්හරි ද, පහ වූවක් කරයි ද, අභාවයට පමුණුවයි ද මේ ප්‍රහාණපධාන යැයි කියනු ලැබේ (අ.නි. ii, පධාන සහ සංවරප්පධාන සුත්ත).

පාප චේතනා පලවා හරින ක්‍රම පහක්

යම් අරමුණක් මෙනෙහි කරන්නා වූ භික්ෂුවට ලෝභ සහගත වු ද ද්වේෂ සහගත වූ ද මෝහ සහගත වූ ද ළාමක අකුශල කල්පනා උපදී ද, එවිට ඒ භික්ෂුව විසින්

1. කුසල් සහිත අන් අරමුණක් මෙනෙහි කළ යුතු ය.
2. නැතහොත් ඒ කල්පනාවන්ගේ ආදීනව මෙනෙහි කළ යුතු යි. මේ කල්පනාවන් අකුසල් ය. වරද සහිත ය දුක් වූ විපාක ඇත යනුවෙනි.
3. නැතහොත් ඒ කල්පනා මෙනෙහි නොකිරීමට, අමතක කිරීමට උත්සහ ගත යුතු යි.
4. නැතහොත් ඒ කල්පනාවන්ගේ සංඛතභාවය ගැන මෙනෙහි කළ යුතු යි.
5. එසේත් නැතහොත් ඒ භික්‍ෂුව විසින් දත්වලින් දත් තද කොට දිවෙන් තලු තද කොටගෙන (දත්මිටි කාගෙන) සිතින් සිතා ඒ අකුශල කල්පනා මැඩලිය යුතුය. මුලිනුදුරා දැමිය යුතු යි.

එවිට ලෝභ සහගත වූ ද, ද්වේෂ සහගත වූ ද, ඒ ළාමක අකුශල කල්පනාව පහ වෙයි. ඔවුන්ගේ පහ වීම හේතු කොටගෙන සිත සැනසීමකට පැමිණේ එකඟ භාවයකට පැමිණේ. සමාධියට පැමිණේ (ම.නි. I, විතක්ක සණ්ඨාන සුත්ත).

3. නූපන් කුසල් ඉපදවීම (භාවනාපධානය)

නූපන් කුසල් ඉපදවීම කවරේ ද? මේ ශාසනයෙහි මහණ තෙම නූපන් කුසල ධර්මයන්ගේ ඉපදීම පිණිස වෑයම් කරයි. වීර්යය පටන්ගනී, සිත යොදවයි එසේ කරන්නා විවේකය, විරාගය, නිරෝධය මූලික කොට ඇත්තා වූ ද නිවන අන්ත කොට ඇත්තා වූ ද නිවන ඇසුරු කළ විදර්ශනාව, මාර්ගය, බොජ්ඣංග ධර්ම නමැති සති, ධර්මවිචය, වීර්යය, ප්‍රීතිය, පස්සද්ධිය, සමාධිය, උපේක්ෂාව යන මේ ධර්ම වඩයි. මේ භාවනාප්‍රධානය යැයි කියනු ලැබේ.

4. උපන් කුසල් වැඩිදියුණු කිරීම (අනුරක්ඛණාපධානය)

උපන් කුසල් වැඩිදියුණු කිරීම කවරේ ද? මේ ශාසනයෙහි මහණ තෙම උපන් කුසල ධර්මයන්ගේ ස්ථිතිය පිණිස, නුමුළා බව පිණිස, වැඩීම පිණිස, විපුල භාවය පිණිස, සම්පූර්ණවීම පිණිස සිත යොදවයි ද, වෑයම් කරයි ද, වීර්ය කරයි ද එය යි. මේ ශාසනයෙහි මහණ තෙම උපන්නා වූ අට්ඨික සංඥාව (ඇට සැකිල්ල යන සංඥාව), පුලවක සංඥාව (පණුවන්ගෙන් ගැවසීගත්තේ ය යන සංඥාව), නීලක සංඥාව (ඉතා නිල් පැහැ වු මළකුණ යන සංඥාව), විපුබ්බක සංඥාව (සැරව පිරුණු මළකුණ යන සංඥාව), විඡිද්දක සංඥාව (සිදුරු සැදුණු මළකුණ යන සංඥාව), උද්ධුමාතක සංඥාව (ඉදිමී ගිය මළකුණ යන සංඥාව), යන යහපත් සමාධි නිමිති සිතෙහි දැඩි වශයෙන් තබාගනි ද මේ අනුරක්ඛණප්‍රධානය යැයි කියනු ලැබේ. මහණෙනි, ශාස්තෘන් වහන්සේගේ අනුශාසනය අවබෝධ කරගත් සැදැහැවත් කුලපුත්‍රයාට මෙබඳු අධිෂ්ඨානයක් වේ. ඒකාන්තයෙන් මගේ ශරීරයෙහි සම, ඇට, නහර මැලවී යතත් පුරුෂ වීර්යයකින්, පුරුෂ පරාක්‍රමයකින් යමකට පැමිණිය හැකි ද, ඊට නොපැමිණ, විර්යයාගේ අත්හැරීමක් නොවන්නේ ය.

මෙය නිවැරදි වෑයම වේ (ම.නි. ii, කීටාගිරි සුත්ත/ අ.නි.ii, පධාන සහ සංවරප්පධාන සුත්ත).

අකුසලයෙන් වැලකීම ද කුසලය ප්‍රගුණ කිරීම ද වර්ධනය කිරීමට ද පවත්වා ගැනීමට ද වීර්යය කරන ලෙස ආදිච්ච බන්ධු වූ (සූර්යයාගේ නෑයා වූ) ඒ භාග්‍යවතුන් වහන්සේ විසින් දෙසන ලදි. යම් කිසිවෙක් එය පිළිපදී ද ශාස්තෘන් වහන්සේගේ අනුශාසනය අනුගමනය කරයි ද ඔවුහු දුක් කෙළවර කරන්නාහු ය (අ.නි. iv, භද්දක සුත්ත).

# සත්වැනි පියවර

# නිවැරදි සතිය (සම්මා සති)

නිවැරදි සතිය යනු කවරේ ද?

සතර සතිපට්ඨානය.

නිවැරදි සතිය නම් කවරේ ද? සියලු සත්ත්වයන්ගේ විශේෂ පිරිසිදු බව පිණිස ද, ශෝක කිරීම, වැලපීම් යනාදින්ගේ ඉක්මවීම පිණිස ද, කයෙහි හටගන්නා දුක් ද, සිතෙහි හටගන්නා දුක් ද යන මොවුන්ගේ අස්තයට (බැසීමට) යාම පිණිස ද ඤාය නම් ලද ආර්ය මාර්ගයට පැමිණීම පිණිස ද, නිර්වාණය අවබෝධ කිරීම පිණිස ද, එක ම මාර්ගයක් වෙයි. එනම් සතර සතිපට්ඨාන ධර්මය යි.

ඒ සතර සතිපට්ඨාන ධර්ම කවරහුද යත් මේ ශාසනයෙහි මහණ තෙම කෙලෙස් තවන වීර්යය ඇති ව, යහපත් ප්‍රඥාව ඇති ව, සිහියෙන් යුක්ත ව දැඩි ලෝභය ද, දොම්නස ද දුරු කොට මේ කයෙහි, කය අනුව කය දක්නා ස්වභාවය ඇති ව වාසය කෙරේ ද, විඳීම් කෙරෙහි විඳීම් අනුව විඳීම් දක්නා ස්වභාවය ඇති ව වාසය කෙරේ ද, සිත් කෙරෙහි සිත් අනුව සිත් දක්නා ස්වභාවය ඇති ව වාසය කෙරේ ද, ධර්මයන් කෙරෙහි ධර්ම අනුව දක්නා ස්වභාවය ඇති ව වාසය කෙරේ ද එය යි.

1. කායානුපස්සනාව (කය අනුව දකිමින් වාසය කිරීම)

යම් කිසි යෝගාවචරයෙක් කෙසේ නම් කයෙහි කය අනුව බලමින් වාසය කරන්නේ ද යත්,

## ආශ්වාස ප්‍රශ්වාස අනුව සිහිය වැඩීම (අනාපානසති)

මේ ශාසනයෙහි මහණ තෙම කැලයකට ගියේ හෝ ගසක් මුලකට ගියේ හෝ හිස් ගෙයකට ගියේ හෝ පර්යංකය බැඳ (එරමිණිය ගොතා) කය කෙළින් පිහිටුවාගෙන සිහිය ඉදිරිකොට තබාගෙන හිඳියි. හෙතෙම සිහියෙන් ම ආශ්වාස කරයි. සිහියෙන් ම ප්‍රශ්වාස කරයි. දීර්ඝව ආශ්වාස කරන්නේ "දීර්ඝව ආශ්වාස කරමි"යි දනියි. දීර්ඝව ප්‍රශ්වාස කරන්නේ "දීර්ඝව ප්‍රශ්වාස කරමි"යි දනියි. කෙටියෙන් ආශ්වාස කරන්නේ "කෙටියෙන් ආශ්වාස කරමි"යි දනියි. කෙටියෙන් ප්‍රශ්වාස කරන්නේ "කෙටියෙන් ප්‍රශ්වාස කරමි"යි දනියි. සියලු (හුස්ම) කය පැහැදිලිව හඟිමින් කරන්නෙමියි දැන හෙතෙම එය පුරුදු කරයි. සියලු (හුස්ම) කය පැහැදිලි ව හඟිමින් ප්‍රශ්වාස කරන්නෙමියි දැන හෙතෙම එය පුරුදු කරයි. මේ කාය සංස්කාරය සංසිඳුවමින් ආශ්වාස කරන්නෙමියි දැන එය පුරුදු කරයි. මේ කාය සංස්කාරය සංසිඳුවමින් ප්‍රශ්වාස කරන්නෙමියි දැන එය පුරුදු කරයි.

මෙසේ තමාගේ කයෙහි හෝ අනුන්ගේ කයෙහි හෝ තමන්ගේ සහ අනුන්ගේ කයෙහි හෝ ආශ්වාස ප්‍රශ්වාස නුවණින් දකිමින් වාසය කරයි. ආශ්වාසයන්ගේ හටගැනීම, නැති වීම හා ප්‍රශ්වාසයන්ගේ හටගැනීම, නැතිවීම දකිමින් වාසය කරයි. ආශ්වාස ප්‍රශ්වාස දෙක ඇත්තේය. ඒ හැර ජීවත්වෙන සත්ත්වයෙක් හෝ පුද්ගලයෙක් නැත්තේය යැයි මනා කොට සිහිය පිහිටියේ වෙයි. තණ්හා දෘෂ්ටියෙන් දුරු ව වසන්නෙක් ද වේ. එහෙයින් සත්ත්ව ලෝකයෙහි කිසි රූපාදියක නොඇලී වසන්නෙක් ද වේ. මෙසේ මහණ තෙම කයෙහි කය අනුව දකිමින් වාසය කරයි.

"කයක් නම් ඇත. එහෙත් එය ජීවමාන සත්ත්වයෙක් හෝ පුද්ගලයෙක් හෝ ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ ආත්මයක් හෝ ආත්මයකට අයිති දෙයක් හෝ කෙනෙක් හෝ කෙනෙකුට අයිති දෙයක් හෝ නොවේ ය."

“ආනාපාන සතිය” වනාහි භාවනා කිරීමේ ඉතා ම වැදගත් අභ්‍යාසවලින් එකකි. එය වනාහි ධ්‍යාන සතරට පැමිණීම එනම් සමථය වැඩීම සඳහා හෝ විපස්සනාව වැඩීම සඳහා හෝ මේ දෙක ම වැඩීම සඳහා හෝ ප්‍රයෝජනයට ගත හැක. සතිපට්ඨානය මෙහි පහත දැක්වෙන පරිදි විපස්සනාව වැඩීමට සමථය හා සිත එකඟ කරගැනීම සඳහා ප්‍රධාන වශයෙන් උපයෝගි වෙතැයි අදහස් කරන ලදි.

ආනාපාන සතිය නොකඩවා ප්‍රගුණ කිරීමෙන් පසු එක්තරා ප්‍රමාණයක සමථයක් හා සිත එකඟ කරගැනීමක් හෝ ධ්‍යානවලින් එකක් හෝ ලැබීමෙන් පසු යෝගාවචරයා ආශ්වාස ප්‍රශ්වාසයේ ප්‍රභවය සෙවීම සඳහා යොමු වෙයි. සතර මහා ධාතුන්ගෙන් සමන්විතවූ මේ කය හා ඉන් බිඳුණු පඤ්චේන්ද්‍රියාදි නොයෙක් දේ හේතු ප්‍රත්‍ය අනුව ක්‍රියාත්මක වන බව හා ආශ්වාස හා ප්‍රශ්වාස හටගන්නා බව ද ඔහුට පෙනී යයි. පංච වේදයිතයන්ගෙන් හටගැනීමත් සමග විඤ්ඤාණය ද ඒ හා සමඟ වේදනා, සංඥා, සංස්කාර නමැති ස්කන්ධ තුනද පහළවේ. එබැවින් භාවනානුයෝගි පුද්ගලයාට පෙනී යනුයේ මේ පුද්ගලත්වය නොයෙකුත් හේතුන්ගෙන් හටගැනුණා වූ කායික හා චෛතසික ක්‍රියා පද්ධතියක් මිස එහි ආත්මයක් හෝ යමෙකු නොමැති බව යි. එතැන් පටන් ඔහු මෙය අනිත්‍ය, දුක්ඛ, අනාත්ම වශයෙන් දකියි, මෙනෙහි කරයි.

සතර ඉරියවු

තව ද යෝගාවචර තෙම යන්නේ නම් ‘‘මම යමි’’යි දනී. සිටියේ නම් “මම සිටියෙමි”යි දනී. හිඳියි නම් “මම හිඳමි” යි දනී. සයනය කරන්නේ නම් “මම සයනය කරමි” යි දනී. ඔහුගේ කය වනාහි යම් යම් ඉරියවුවකින් පිහිටුවන ලද ද ඒ බව පරමාර්ථ වශයෙන් දනී. යන්නා වූ හෝ සිටින්නා වූ හෝ හිඳින්නා වූ හෝ සයනයකරන්නා වූ හෝ ජීවමාන සත්ත්වයෙකු හෝ ආත්මයක් නොමැති බව ද “මම යමි”, “මම සිටිමි”, ‘‘මම හිඳිමි’’, ‘‘මම

සයනය කරමි'' වශයෙන් කියනුයේ සම්මුති වාග් ව්‍යවහාරය අනුව බව ද හොඳින් දනී (ම.නි. ii, මහාරාහුලෝවාද සුත්ත).

සති සම්පජඤ්ඤ

තව ද යෝගාවචර තෙම ඉදිරියට යාමෙහි ද ආපසු ඒමෙහි ද සිහිනුවණින් කරන්නෙක් වේ. ඉදිරිපස බැලීමෙහි ද පිටුපස බැලීමෙහි ද, සිහිනුවණින් කරන්නෙක් වේ. සිරුර හැකිලීමෙහිද, දිගුකිරීමෙහි ද සිහිනුවණින් කරන්නෙක් වේ. පාත්‍ර සිවුරු දැරීමෙහි ද සිහිනුවණින් කරන්නෙක්වේ. අනුභව කිරීමෙහි ද, පානය කිරීමෙහි ද, සැපීමෙහි ද, රස බැලීමෙහි ද සිහිනුවණින් කරන්නෙක් වේ. මලමූත්‍ර පහ කිරීමෙහි ද සිහිනුවණින් කරන්නෙක් වේ. යාමෙහි ද, සිටීමෙහි ද, හිඳීමෙහි ද, නින්දට වැටීමෙහි ද, නින්දෙන් පිබිදීමෙහි ද, කථා කිරීමෙහි ද, කථා නොකිරීමෙහි ද, සිහිනුවණින් ඒ කෘත්‍ය පවත්වන්නේ මෙසේ තමාගේ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

ශ්‍රාවකයා කරන සැම දෙයක දී ම

1. ඔහුගේ අරමුණ
2. ඔහුට එයින් ඇති ප්‍රතිලාභය
3. ඔහුගේ යුතුකම හා
4. යථා තත්ත්වය ගැන පැහැදිලි අවබෝධයක් ඇත.

පිළිකුල් සංඥව (පටික්කුල සංඥා)

තව ද යෝගාවචර තෙම පාදන්තයෙන් උඩ හිසකේ මස්තකයෙන් යට සම අන්ත කොට ඇති නානා විධ අසූචියෙන් පිරුණු මේ කය ම නුවණින් සලකා බලයි. කෙසේ ද යත්, මේ කයෙහි හිසකෙස්, ලොම්, නියපොතු, දත්, හම, මස්පිඬු, නහර, ඇට, ඇට මිදුලු, වකුගඩු, අක්මාව, හෘදය මාංස, දලබුව, බඩ දිව, පපුමස, පෙනහැලි, බඩවැල, ආමාශයෙහි නොදිරූ අහර, මල, පිත, සෙම, සැරව, ලෙහෙ, දහදිය, මේදතෙල, කඳුළු, වුරුණු තෙල, කෙළ, සොටු, සඳමිදුලු, මූත්‍ර යන මේ කුණප ඇත. නොයෙක් ආකාරවූ

ධාන්‍යයන්ගෙන් පුරවන ලද උඩ යටි දෙපැත්තේ කටවල් දෙකක් ඇති මල්ලක් වේ ද, ඇස් ඇති පුරුෂයෙක් ඒ ධාන්‍ය පිරුණු මල්ල මේ හැල් ය, මේ මහ වී ය, මේ මුං ය, මේ මෑ ය, මේ තල ය, මේ සහල් යැයි යම් සේ මෙනෙහි කරන්නේ ද, එපරිද්දෙන් ම යෝගාවචර තෙම මේ කය ම නුවණින් මෙනෙහි කරයි.

## සතර මහා ධාතුන්ගේ විග්‍රහය

තව ද යෝගාවචර තෙම මේ ශරීරයේ කොටස්, යම් සේ පිහිටන ලද ද, එය ධාතු වශයෙන් නුවණින් මෙනෙහි කරයි. මේ කය පඨවි ධාතුව (තද ගතිය), ආපෝ ධාතුව (දියර ගතිය), තේජෝ ධාතුව (උණුසුම් ගතිය), වායෝ ධාතුව (චලන ගතිය) යන ධාතුන්ගෙන් යුක්ත යැයි නුවණින් පරික්ෂා කරයි. යම්සේ දක්ෂ වූ ගවයන් මරන්නෙක් හෝ ගවයන් මරන්නකුගේ අතවැසියෙක් හෝ ගවයකු මරා කොටස් වශයෙන් වෙන් කොට බෙදා සතර මංසන්ධියෙහි හිඳී ද එසේ ම යෝගාවචර තෙම මේ කය ධාතු වශයෙන් නුවණින් මෙනෙහි කරයි. විසුද්ධිමග්ගයේ මේ උපමාව පහත සඳහන් අයුරින් විස්තර කොට ඇත.

ගවයන් මරන්නකු එළදෙනක ඇති දැඩි කරන විට ද ඇය මරන තැනට ගෙනෙන විට ද කණුවක බඳින විට ද නැගිටුවන විට ද මරන විට ද එළදෙන දෙස බලන විට ද, මේ සියලු කාලයන්හි දී ඔහු තුළ මේ එළදෙනය යන හැඟීමක් පවතී. එසේ මරන ලද එළදෙන මස් කළ කල ද ඒවා කොටස්වලට කපා කොටා වෙන් කළ කල ද, තවද ඒ විකිණීම සඳහා හිඳගත් කලද "මේ එළදෙනය" යන හැඟීම ඔහුගේ සිතෙන් නැති වී යයි. "මේ මස්" ය යන හැඟීමක් ඇති වෙයි. තමා එළදෙන විකුණන්නේ යැයි ද මිනිසුන් එළදෙනක මිලයට ගන්නේ යැයි ද කියා ඔහු නොසිතයි.

එමෙන් ම තමාගේ කය සියුම් නුවණින් පරීක්ෂා කිරීමෙන් සිය මනසෙන් කපා කොටා එය සතර මහා ධාතුන්ගෙන් සැදුණු දෙයක් යයි අවබෝධ කරගන්නා තෙක් සත්ත්වයා, මිනිසා,

පුද්ගලයා යන හැඟීම් ගිහියකු හෝ පැවිද්දකු හෝ අඥාන පෘථග්ජනයකු තුළ නැති නොවන්නේ ය. තමා එසේ කළ කල්හි එම හැඟීම් නැති වී ගොස් සිය කය සතර මහා ධාතූන්ගෙන් සැදුණු දෙයක් යැයි යන හැඟීම තරයේ පිහිටා ගනී.

අසුභ භාවනාව

තව ද යෝගාවචර තෙම මැරී එක දවසක් ගියා වූ හෝ දෙදවසක් ගියාවූ හෝ තුන් දවසක් ගියා වූ හෝ ඉදිමුණා වූ නිල් වූ සැරව වැගිරෙන්නා වූ සොහොනෙහි දමන ලද මළමිනියක් යම් සේ දකී ද ඒ මහණ තෙමේ තමාගේ කය "මෙබඳු වූ ස්වභාවය ඇත්තේ ය. මෙබඳු වූ ස්වභාවයට පැමිණෙන්නේ ය. මෙබඳු වූ ස්වභාවය නොඉක්මවා සිටි" යි කියා තමාගේ කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

තවද යෝගාවචර තෙම උකුස්සන් විසින් හෝ බල්ලන් විසින් හෝ හිවලුන් විසින් හෝ නොයෙක් සතුන් විසින් හෝ කනු ලබන්නා වූ අමු සොහොනෙහි දමන ලද මළමිනියක් යම් සේ දකී ද හෙතෙම මෙනෙහි කරයි. "මේ මාගේ කය මෙබඳු වූ ස්වභාව ඇත්තේය. මෙබඳුවූ ස්වභාවයට පැමිණෙන්නේ ය. මෙබඳු වූ ස්වභාව නොයික්මවා සිටියි කියා යි."

තවද යෝගාවචර තෙම ලේ මස් සහිත වූ, නහරින් බැඳුණු ඇටසැකිල්ලක් වූ, සොහොනෙහි දමන ලද මළමිනියක් හෝ මස් නැති ලෙයින් වැකුණු, නහරින් බැඳුණු ඇටසැකිල්ලක්වූ සොහොනෙහි දමන ලද මළමිනියක් හෝ මස් ලේ දෙකින් තොර වූ නහරින් බැඳුණ ඇටසැකිල්ලක් හෝ නහර බැම්වලින් මිදුණු, දිසා අනුදිසාවන්හි විසිරුණු, ඇට කැබැලි ද, වෙන දිසාවක විසිරුණු පා ඇට ද වෙන දිසාවක විසිරුණු කෙණ්ඩා ඇට ද, වෙන දිසාවක විසුරුණු කලවා ඇටද වෙන දිසාවක විසිරුණු කටි ඇටද, වෙන දිසාවක විසිරුණු පිටකටු ද, වෙන දිසාවක විසුරුණු හිස් කැබැලි ද ඇති ව සොහොනෙහි දමන ලද මළමිනියක් යම්

සේ දකී ද, ඒ යෝගාවචර තෙම කය ද, නුවණින් බලන්නේ "මාගේ මේ කය ද මෙබඳු ස්වභාව ඇත්තේ ය. මෙබඳු ස්වභාවයට පැමිණෙන්නේ ය. මෙබඳු ස්වභාව නොඉක්මවා සිටී" කියා මෙනෙහි කරයි.

තව ද යෝගාවචර තෙම හක්ගෙඩි වැනි සුදුවූ ඇට හෝ අවුරුදු ගණනක් ඉක්මගිය ඇට ගොඩක් හෝ දිරා සුනු වූ සොහොනෙහි දමන ලද මළමිනියක ඇට කුඩු යම් සේ දකීද ඒ යෝගාවචර තෙම "මාගේ මේ කය මෙබඳු ස්වභාව ඇත්තේ ය. මෙබඳු ස්වභාවයට පැමිණෙන්නේ ය. මෙබඳු ස්වභාව නොඉක්මවා සිටී" කියා මෙනෙහි කරයි.

මෙසේ තමන්ගේ කයෙහි හෝ අනුන්ගේ කයෙහි හෝ තමන්ගේ හා අනුන්ගේ කයෙහි හෝ කය අනුව බලමින් වාසය කරයි. කය ඇති වන සැටි ද කය නැති වන සැටි ද කයෙ ඇති වීම හා නැති වීම ද දකියි. කයක් ඇත යන සිහිය හොඳින් පිහිටුවන ලද්දේ ඥානයාගේ වැඩීම පිණිස ද සිහිය වැඩීම පිණිස ද පවතී. මෙසේ වාසය කරන්නේ ද එවිට මේ ලෝකයෙහි කිසිවක් ආත්ම වශයෙන් නොගනී. යෝගාවචර තෙම කයෙහි කය අනුව බලමින් වාසය කරයි.

## කායානුපස්සනාව හේතු කොටගෙන ඒකාන්තයෙන් ලැබිය හැකි ආනිශංස දසය.

මෙසේ පුහුණු කරන ලද්දා වූ වඩන ලද්දා වූ නැවත නැවත පුරුදු කරන ලද්දා වූ පිහිටුවන ලද්දා වූ ශක්තිමත් බවට පමුණුවන ලද්දා වූ පරිපූර්ණ කරන ලද්දා වූ කායගතා සතියෙහි මේ ආනිශංස දසය ඇත. කවර දසයක් ද යත්,

1. කම් සැපෙහි ඇලීම ද කුසල ධර්මයන්හි නොඇලීම ද මැඩ පවත්වන්නේ වේ. ඒ කුසල ධර්මයන්හි නොඇලීම නොඉවසයි. හටගත් කුසල ධර්මයන්හි නොඇලීම මැඩ වාසය කරයි.

2. භය හා සාංකා අරමුණු මැඬ පවත්නේවේ. උපන් භය හා සාංකා අරමුණු මැඬ වාසය කරයි.

3. ශීතයේ ද උෂ්ණයේ ද සාගින්නේ ද පිපාසයේ ද මැස්සන්ගේ ද මදුරුවන්ගේ ද වාතයෙන් ද අව්රශ්මියෙන් ද සර්පයන්ගේ ද ස්පර්ශය ඉවසන්නේ වේ. නොමනා සේ කියන ලද නපුරුකොට කියන ලද වචන ඉවසන්නේ වේ. හටගත්තා වූ දුක් වූ තියුණු වූ කුරිරු වූ කටුක වූ නොමිහිරි වූ අමනාප වූ ජීවිතයට අන්තරායකාරි වූ කායික වේදනාව ඉවසන්නෙක් වේ.

4. මේ ආත්ම භාවයෙහි දී ම සිත පිරිසිදු කොට සැපගෙනදෙන්නා වූ ධ්‍යාන සිත් සේ ලබන්නේ අපහසුවක් නොමැති ව පහසුවෙන් සුවය විඳියි.

ඍද්ධි විධි සය (අභිඥා)

5. නොයෙක් ඍද්ධි විධි ලබන්නේය.

6. පිරිසිදු වූ ද මිනිසත් බව ඉක්ම වූ ද දිවකනින් (දිබ්බසෝත) දිව්‍යමය වූ ද, මනුෂ්‍යමය වූ ද, දුර වූ ද, ළඟ වූ ද, යන දෙවැදෑරුම් ශබ්දයන් අසන්නේ ය.

7. සිතින් අන්‍ය සත්ත්වයන්ගේ සිත් දන්නා නුවණ ලබන්නේ ය.

8. නත් වැදෑරුම් වූ පෙර විසූ තැන් දක්නා නුවණ ලබන්නේ ය.

9. පිරිසිදුව ද මිනිසත් බව ඉක්ම වූ ද දිවඇසින් (දිබ්බචක්ඛු) මැරෙන්නා වූ ද උපදින්නා වූ ද හීන වූ ද උසස් වූ ද පැහැපත් වූ ද දුර්වණවත් වූ ද යහපත් ගති ඇත්තා වූ ද යහපත් ගති නැත්තා වූ ද කර්මය පරිදි මිය පරලොව යන්නා වූ ද සත්ත්වයන් දකින්නේ ය.

10. ආශ්‍රව නැති වීමෙන් මේ ආත්ම භාවයේ දී ම චේතෝ විමුක්තියත් පඤ්ඤා විමුක්තියත් විශේෂ නුවණින් දැන ප්‍රත්‍යක්ෂකොට ඊට පැමිණ වාසය කරන්නේ ය.

මෙහි දැක්වූ ආනිසංස හය වනාහි (5 - 10) මානසික ශක්ති නමින් හෙවත් අභිඤ්ඤා නමින් හැඳින්වෙන ඒවා ය. මේවායින් පළමුවැනි පස (1-5) ලෞකික තත්වවේ. එහෙයින් පෘථග්ජනයකුට වුව ද ඒවා ලබාගත හැකි ය. එහෙත් අවසාන අභිඤ්ඤා පස ලෝකෝත්තර තත්ත්වයක් වනු පමණක් නොව රහත් භාවයේ ලක්ෂණයක් ද වේ. කෙනකුට ලෞකික අභිඤ්ඤා පස ලබාගැනීමට සම්පූර්ණයෙන් හැකිවන්නේ චතුර්ථ ධ්‍යානයත් ලබාගත් පසුවය. ඍර්ධිපාද හෙවත් ඍර්ධියට මුල් වන දෑ සතරෙකි. එනම් ඡන්ද ඉද්ධිපාද, විරිය ඉද්ධිපාද, චිත්ත ඉද්ධිපාද, වීමංසා ඉද්ධිපාද යනු ඒ සතර යි.

2. වේදනානුපස්සනාව

යෝගාවචර තෙම වේදනා කෙරෙහි ඒ ඒ වේදනා අනුව නුවණැස මෙහෙයවා බලමින් කෙසේ වාසය කරයි ද? සැප වේදනාවක් විඳින්නේ "සැප වේදනාවක් විඳිමි"යි දනී. දුක් වේදනාවක් විඳින්නේ "දුක් වේදනාවක් විඳිමි"යි දනී. දුක ද නොවූ සැප ද නොවූ උපේක්ෂා වේදනාවක් විඳින්නේ "දුක ද නොවූ සැප ද නොවූ උපේක්ෂා වේදනාවක් විඳිමි"යි දනී. පංචකාම නිශ්‍රිත වූ සැප වේදනාවක් විඳින්නේ, හෝ නෛෂ්ක්‍රම්‍ය නිශ්‍රිත වූ සැප වේදනාවක් විඳින්නේ හෝ පංචකාම නිශ්‍රිත වූ දුක් වේදනාවක් විඳින්නේ හෝ නෛෂ්ක්‍රම්‍ය නිශ්‍රිත වූ (කුසල පක්ෂගත) දුක් වේදනාවක් විඳින්නේ හෝ පංචකාම නිශ්‍රිත වූ උපේක්ෂා වේදනාවක් විඳින්නේ හෝ නෛෂ්ක්‍රම්‍ය නිශ්‍රිත වූ උපේක්ෂා වේදනාවක් විඳින්නේ හෝ එසේ විඳිමියි දනියි.

මෙසේ තමන්ගේ වේදනා කෙරෙහි හෝ අනුන්ගේ වේදනා කෙරෙහි හෝ තමන්ගේ හා අනුන්ගේ වේදනා කෙරෙහි හෝ වේදනා අනුව බලමින් වාසය කරයි. ඒ වේදනා උපදින ස්වභාවය දක්නේ හෝ එම වේදනාවන්ගේ විනාශවන ස්වභාවය හෝ දක්නේ

වේදනාවන් අනුව බලමින් වාසය කරයි. එම වේදනාවන්ගේ ද කලෙක ඉපදීම කලෙක නැතිවීම වශයෙන් දක්නේ හෝ වේදනා කෙරෙහි වේදනාවන් අනුව බලමින් වාසය කරයි. එසේ කරන්නා වූ ඒ යෝගාවචරයා හට "අස්ථිර වූ වේදනා ඇත." යන සිහිය හොඳින් පිහිටුවන ලද්දේ ය. එසේ පිහිටුවන ලද ඒ සිහිය ඥානයාගේ වැඩීම පිණිස ද සිහියේ වැඩීම පිණිස ද පවතී. ඒ නව විධ වේදනාවන්ගෙන් දුරු ව වාසය කරයි. මේ ලෝකයෙහි කිසි වේදනාදියක් ස්ථිර වශයෙන් නොගෙන වේදනාවන් කෙරෙහි වේදනාවන් අනුව බලමින් වාසය කරයි.

"මට දැනේ" යන කීම සම්මුති ව්‍යවහාර වශයෙන් කියන කීමක් මිස, එය වලංගු නැති එකක් බව බුද්ධ ශ්‍රාවකයාට වැටහේ. පරමාර්ථ වශයෙන් ගන්නා කල ඇත්තේ වේදනා පමණක් බව ද ආත්මයක් හෝ වේදනා විඳින්නකු හෝ නැති බව ද ඔහු වටහා ගනී.

## 3. චිත්තානුපස්සනාව

යෝගාවචර තෙම සිතෙහි සිත අනුව බලමින් කෙසේ වාසය කරයි ද? මේ ශාසනයෙහි යෝගාවචර තෙම සරාග (අටවැදෑරුම් වූ) ලෝභ සහගත සිත ලෝභ හා එක්වූ සිත යැයි ද දනී. පහ වූ ලෝභය ඇති සිත පහ වූ ලෝභය ඇති සිත යැයි දනී. ද්වේෂ සහගත සිත ද්වේෂ සහගත සිත යැයි දනී. පහ වූ ද්වේෂය ඇති සිත පහ වූ ද්වේෂය ඇති සිත යැයි දනී. මෝහ සහගත සිත මෝහ සහගත සිත යැයි දනී. පහ වූ මෝහ ඇති සිත පහ වූ මෝහ ඇති සිත යැයි දනී. සංක්ෂිප්ත (හැකුලුනු සිත) සිත සංක්ෂිප්ත (හැකුලුනු සිත) සිත යැයි දනී. වික්ෂිප්ත (විසිර පවත්නා) සිත වික්ෂිප්ත (විසිර පවත්නා) සිත යැයි දනී. සවුත්තර සිත සවුත්තර සිත යැයි දනී. අනුත්තර සිත අනුත්තර සිත යැයි දනී. සමාහිත සිත සමාහිත සිත යැයි දනී. අසමාහිත සිත අසමාහිත සිත යැයි දනී. විමුක්ති සිත විමුක්ති සිත යැයි දනී. අවිමුක්ති සිත අවිමුක්ති සිත යැයි දැනගනී.

"චිත්ත" (හෙවත් සිත) යන පදය මෙහි යෙදී ඇත්තේ සිත් හෝ විඥ්ඥාණයේ අවස්ථා සඳහා යෙදෙන සමුදයාර්ථවත් පදයක් ලෙසිනි. විඥ්ඥාණය අර්ථය ගෙන දෙන "චිතත" යන්න සිතිවිල්ල වශයෙන් ගෙන පරිවර්තනය නොකළ යුතු ය. "සිතිවිල්ල" හා "සිතීම" වනාහි සංස්කාර ස්කන්ධයට අයත් වූ විතක්ක හා විචාර යැයි ගැනෙන වචී සංස්කාරයන්ට වඩාත් ම සම්බන්ධ වේ.

මෙසේ තමාගේ සිත කෙරෙහි හෝ අනුන්ගේ සිත කෙරෙහි හෝ තමන්ගේ හා අනුන්ගේ සිත කෙරෙහි හෝ සිත අනුව බලමින් වාසය කරයි. සිත්වල ඇතිවීම ද නැතිවීම ද, කලෙක ඇතිවීම නැතිවීම ද දකී. සිත පමණක් ඇත්තේය. (සත්ව පුද්ගල කෙනෙක් නැත්තේ ය) යන සිහිය හොඳින් පිහිටුවන ලද්දේ ය. ඒ සිහිය ඥානයාගේ වැඩීම පිණිස ද, සිහිය වැඩීම පිණිස ද පවතී. ඒ යෝගාවචර තෙම මේ ලෝකයේ කිසිවක් මම ය, මාගේ යැයි ආත්ම වශයෙන් මුළාවට පත් නොවේ. මෙසේ ද සිත කෙරෙහි සිත අනුව බලමින් වාසය කරයි.

## 4. ධම්මානුපස්සනාව

යෝගාවචර තෙම ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් කෙසේ වාසය කරයි ද? මේ ශාසනයේ යෝගාවචර තෙම පංච නීවරණ ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි.

### නීවරණ පස

තමා කෙරෙහි ඇත්තා වූ කාමච්ඡන්ද "මා තුළ කාමච්ඡන්දය ඇතැ"යි දනී. තමා කෙරෙහි ඇත්තා වූ ව්‍යාපාදය, "මා තුළ ව්‍යාපාදය ඇතැ"යි දනී. තමා තුළ ඇත්තා වූ ථීනමිද්ධය "මා තුළ ථීනමිද්ධය ඇතැ"යි දනී. තමා තුළ ඇත්තා වූ උද්ධච්ච කුක්කුච්චය, "මා තුළ උද්ධච්ච කුක්කුච්චය ඇතැ"යි දනී. තමා කෙරෙහි ඇත්තාවූ විචිකිච්ඡාව, "මා තුළ විචිකිච්ඡාව ඇතැ"යි දනී. මේ නීවරණ ඔහු තුළ නැති විට මේ නීවරණ මා තුළ නැතැයි දනී.

ඒ ධර්මයන්ගේ උත්පත්ති ක්‍රමය ද උපන් නීවරණ ධර්මයන්ගේ මැඬ පවත්වනා ක්‍රමය ද, එම නීවරණ ධර්මයන් නැවත නූපදින්නේ කෙසේ ද යන්න ද හෙතෙම දනී.

උදාහරණයක් වශයෙන් කාමාශාව ප්‍රියමනාප දේ පිළිබඳ නුවණින් කල්පනා කිරීමෙන් ඇතිවන්නකි. පහත සඳහන් ක්‍රම සය මඟින් එය මැඬ පැවැත්විය හැකිය.

1. කලකිරීම ඇති කරවන අදහසක් මත සිත පිහිටුවීම.
2. කයෙහි ඇති පිළිකුල් ස්වභාවය ගැන සිතීම.
3. ඉන්ද්‍රියන් සය සංවර කරගැනීම.
4. ගත යුතු පමණ දැන ආහාර ගැනීම.
5. පණ්ඩිතයන් හා සත්පුරුෂයන් සමග මිත්‍රත්වය.
6. නිවැරදි අනුශාසනා යන මේවාය.

අනාගාමීත්වයට පැමිණීමෙන් පසු ඔහුගේ කාමාශාව හා ක්‍රෝධය සදහට ම නැති වී යයි. රහත් භාවයට පත් වීමෙන් පසු නොසන්සුන් බව හා උද්ධච්චය සදහටම නැති වී යයි.

පංචස්කන්ධය

යෝගාවචර තෙම පංචවිධ උපාදනස්කන්ධ ධර්මයන් කෙරෙහි ධර්මය අනුව බලමින් (ධම්මානුපස්සනා කර්මස්ථාන මෙනෙහි කරමින්) වාසය කරයි. ඔහු මේ රූපයයි, මේ රූපයාගේ පහළවීමේ හේතුවයි, මේ රූපයාගේ විනාශය යැයි ද, මේ වේදනාවයි, මේ වේදනාවගේ පහළ වීමේ හේතුවයි, මේ වේදනාවන්ගේ විනාශය යැයි ද, මේ සංඥවයි, මේ සංඥවගේ පහළ වීමේ හේතුවයි, මේ සංඥවගේ විනාශය යැයි ද, මේ සංස්කාරයයි, මේ සංස්කාරයාගේ පහළවීමේ හේතුවයි, මේ සංස්කාරයාගේ විනාශය යැයි ද, මේ විඤ්ඤණයයි, මේ විඤ්ඤණයාගේ පහළ වීමේ හේතුවයි, මේ විඤ්ඤණයාගේ විනාශය යැයි ද, මෙසේ තමා තුළ වූ ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි.

ආයතන සය

තව ද යෝගාවචර තෙම තමන් තුළ වූ ද, පිටත වූ ද, සයාකාර ආයතන ධර්මයන් කෙරෙහි ඒ ඒ ධර්මයන් අනුව බලමින් වාසය කරයි. ඒ යෝගාවචර තෙම ඇස ද, රූපයන් ද (යථා ස්වභාවයෙන්) දනී. කනද ශබ්දයන් ද දනී. නාසය ද ගන්ධයන් ද දනී. දිව ද රසයන් ද දනී. කය ද ස්පර්ශයන් ද දනී. සිත ද ධර්මයන් ද දනී. ඒ දෙදෙනාගේ එක්වීම හේතු කොටගෙන යම් සංයෝජනයක් උපදී ද එය ද දනී. උපන් සංයෝජනයන්ගේ දුරු කිරීමක් වේ ද එය ද දනී. දුරු කළ සංයෝජනයන්ගේ නැවත ඉපදීමක් නොවන්නේ ද එය ද දනී.

සප්ත බොජ්ඣංග

තව ද යෝගාවචර තෙම බොජ්ඣංග ධර්ම කෙරෙහි එම ධර්ම අනුව බලමින් වාසය කරයි. ඔහු තමා තුළ ඇත්තාවූ සති, ධම්මවිචය, වීර්ය, ප්‍රීති, පස්සද්ධි, සමාධි, උපේක්ඛා යන සම්බෝධි අංග තමා තුළ ඇති විට ඇතැයි ද නැති විට නැතැයි ද දනී. යම් සේ ඉපදීමක් වේ ද එය ද දනී. යම් සේ විනාශවීමක් වේ ද එය ද දනී. නූපන් සම්බෝධි අංගයන්ගේ ඉපදිමක්වේද එයද දනී. උපන් ඒවායේ වැඩීම මෙන්ම යම් සේ සම්පූර්ණ වීමක් වේ ද එය ද දනී.

ආර්ය සත්‍ය සතර

තව ද යෝගාවචර තෙම චතුරාර්ය සත්‍ය ධර්මයන් කෙරෙහි එම ධර්මයන් අනුව බලමින් වාසය කරයි. මේ දුක යැයි තත් වූ පරිද්දෙන් දනී. මේ දුක ඉපදීමේ හේතුව යැයි තත් වූ පරිද්දෙන් දනී. මේ දුක් නැති කිරීම යැයි තත් වූ පරිද්දෙන් දනී. මේ දුක් නැති කිරීමේ මාර්ගය යැයි තත් වූ පරිද්දෙන් දැනගනී.

මෙසේ තමා කෙරෙහි ඇත්තා වූ ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි. අනුන් පිළිබඳ ධර්මයන්

කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි. තමන් පිළිබඳ වූ ද අනුන් පිළිබඳ වූ ද ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි. ධර්මයන් උපදින ස්වභාවය හෝ බලමින් වාසය කරයි. විනාශ වන ස්වභාවය හෝ බලමින් වාසය කරයි. ධර්මයන්ගේ ම කලක ඉපදීම හෝ කලෙක විනාශ වීම හෝ බලමින් වාසය කරයි. ඒ යෝගාවචරයා හට ධර්මයන් ඇතැයි යන සිහිය හොඳින් එළඹෙන ලද්දේය. එය ඥානයාගේ වැඩීම පිණිස ද සිහිය වැඩීම පිණිස ද පවතී. ඔහු කෙලෙසුන්ගෙන් දුරු ව වාසය කරයි. මෙසේද ඒ යෝගාවචර තෙම ධර්මයන් කෙරෙහි ධර්මයන් අනුව බලමින් වාසය කරයි.

සියලු සත්ත්වයන්ගේ පිරිසිදු වීම පිණිස ද සෝක කිරීම, වැලපීම යනාදින්ගේ ඉක්මවීම පිණිස ද කයෙහි හටගන්නා දුක්. සිතෙහි හටගන්නා දුක් යන මේවායේහි නැසීම පිණිස ද ආර්ය මාර්ගයට පැමිණීම පිණිස ද නිර්වාණය අවබෝධ කිරීම පිණිස ද මේ සතර සතිපට්ඨාන ධර්ම එක ම මාර්ගය වන්නේ ය (දී.නි. ii, මහාසතිපට්ඨාන සුත්ත).

මේ සතර සතිපට්ඨානය මුළු පංචස්කන්ධයට ම සම්බන්ධ වේ.

1. කායානුපස්සනාව (කය අනුව මෙනෙහි කිරීම)
   රූප ස්කන්ධය හා සම්බන්ධ වේ.

2. වේදනානුපස්සනාව (වේදනා අනුව මෙනෙහි කිරීම)
   වේදනා ස්කන්ධය හා සම්බන්ධ වේ.

3. චිත්තානුපස්සනාව (සිත් අනුව මෙනෙහි කිරීම)
   විඤ්ඤාණ ස්කන්ධය හා සම්බන්ධ වේ.

4. ධම්මානුපස්සනාව (ධර්මයන් අනුව මෙනෙහි කිරීම)
   සංඥා සහ සංස්කාර ස්කන්ධයන්ට සම්බන්ධ වේ.

# ආනාපාන සතිය මගින් නිර්වාණය අවබෝධ කිරීම

වඩන ලද්ද වූ පුරුදු කරන ලද්ද වූ ආනාපාන සතිය සතර සතිපට්ඨානය සම්පූර්ණ කරයි. වඩන ලද්ද වූ පුරුදු කරන ලද්ද වූ සතර සතිපට්ඨාන සප්තවිධ සම්බෝධි අංග සම්පූර්ණ කරයි. වඩන ලද්ද වූ පුරුදු කරන ලද්ද වූ සප්ත සම්බෝධි අංග විද්‍යා විමුක්තිය සම්පූර්ණ කරයි. කෙසේ වඩන ලද්ද වූ කෙසේ පුරුදු කරන ලද්ද වූ ආනාපාන සති භාවනාව සතර සතිපට්ඨානය සම්පූර්ණ කරයි ද, යෝගාවචර තෙමේ සිහියෙන් යුක්තව

1. දීර්ඝ ව ආශ්වාස කරන්නේ ද, ප්‍රශ්වාස කරන්නේ ද,
2. කෙටියෙන් ආශ්වාස කරන්නේ ද, ප්‍රශ්වාස කරන්නේ ද
3. සියලු (හුස්ම) කය පැහැදිලි ව දැනගනිමින් හුස්ම ගන්නෙමියි පුරුදු කරන්නේ ද සියලු (හුස්ම) කය පැහැදිලි ව දැනගනිමින් හුස්ම පිටකරන්නෙමියි පුරුදු කරන්නේ ද
4. මේ කාය සංස්කාරය සංසිඳුවමින් හුස්ම ගන්නෙමියි පුරුදු කරන්නේ ද මේ කාය සංස්කාරය සංසිඳුවමින් හුස්ම පිටකරන්නෙමියි පුරුදු කරන්නේ ද, මෙසේ පුරුදු කරමින් හික්මෙයි ද

එකල කය අනුව බලන්නා වූ ද කෙලෙස් තවන වීර්යය ඇත්තා වූ ද විමසන නුවණ ඇත්තා වූ ද යෝගාවචර තෙම පංචස්කන්ධය නමැති ලෝකයෙහි දැඩි ලෝභය සහ දොම්නස දුරු කොට වාසය කරයි. මහණෙනි. මම මේ ආශ්වාස ප්‍රශ්වාස කාය කොට්ඨාස අතුරින් එක්තරා කාය කොට්ඨාසයකැ යි කියමි. යම් කලෙක යෝගාවචර තෙම

1. ප්‍රීතිය දැනගනිමින්
2. සැපය දැනගනිමින්
3. චිත්ත සංස්කාරය දැනගනිමින්

4. චිත්ත සංස්කාරය සංසිඳුවමින් ආශ්වාස ප්‍රශ්වාස කරන්නෙමියි පුරුදු කරයි.

එකල වේදනාවන් හි වේදනාව අනුව බලන්නා වූ ද කෙලෙස් තවන වීර්යය ඇත්තා වූ ද නුවණ ඇත්තා වූ ද සිහිය ඇත්තාවූද යෝගාවචර තෙම පංචස්කන්ධ නමැති ලෝකයෙහි දැඩි ලෝභය සහ දෙම්නස ද දුරු කොට වාසය කරයි. යම් ආශ්වාස ප්‍රශ්වාසයක් මනා කොට මෙනෙහි කිරීමක් වේ ද, මම ඒ වේදනාවන් අතුරෙන් එක්තරා වේදනාවක් යැයි කියමි.

යම් කලෙක යෝගාවචර තෙම
1. සිත දැනගනිමින්
2. සිත සතුටුකරමින්
3. සිත කෙලෙසුන් කෙරෙන් මුදවමින් ආශ්වාස කරන්නෙමියි පුරුදු කරයි ද, ප්‍රශ්වාස කරන්නෙමියි පුරුදු කරයි ද, හික්මෙයි ද එකල සිතෙහි සිත අනුව බලන්නා වූ ද කෙළෙස් තවන වීර්යය ඇත්තා වූ ද නුවණ ඇත්තා වූ ද සිහි ඇත්තා වූ ද යෝගාවචර තෙමේ පංචස්කන්ධ නමැති ලෝකයෙහි දැඩි ලෝභය සහ දෙම්නස දුරු කොට වාසය කරයි.

මහණෙනි, මම සිහි මුළා වූ නුවණ නැත්තා හට ආනාපාන සති භාවනාව නොකියමි.

යම් කලෙක යෝගාවචර තෙම
1. අනිත්‍ය
2. නොඇලීම
3. නිරෝධය
4. අතහැර දැමීම නැවත නැවත දකිමින් ආශ්වාස කරන්නෙමියි හික්මෙයි ද නැවත නැවත දකිමින් ප්‍රශ්වාස කරන්නෙමියි හික්මෙයි ද එකල ධර්මයන්හි ධර්මය අනුව බලන්නාවූද කෙලෙස් තවන වීර්යය ඇත්තා වූ ද නුවණ ඇත්තා වූ ද සිහි ඇත්තා වූ ද යෝගාවචර තෙම පංචස්කන්ධ නමැති ලෝකයෙහි දැඩි ලෝභය සහ දොම්නස දුරු කොට වාසය

කරයි. හෙතෙම දැඩි ලෝභයෙහි සහ දොම්නසෙහි යම් ඒ පහ කිරීමෙක් වේ ද එය නුවණින් දැක උපේක්ෂාවෙන් වාසය කරයි. මෙසේ පුරුදු කරන ලද්ද වූ ද වඩනා ලද්ද වූ ද ආනාපාන සතිය වනාහි සතර සතිපට්ඨාන සම්පූර්ණ කරයි.

මෙසේ පුරුදු කරන ලද්ද වූ, වඩන ලද්ද වූ සතර සතිපට්ඨාන කෙසේ සප්ත බෝධි අංගයන් සම්පූර්ණ කෙරේ ද? යම් කලෙක යෝගාවචර තෙමේ කයෙහි කය අනුව බලමින්, වේදනාවන්හි වේදනාව අනුව බලමින්, සිතෙහි සිත අනුව බලමින්, ධර්මයන්හි ධර්මය අනුව බලමින්, කෙලෙස් තවන වීර්ය ඇත්තේ, නුවණ ඇත්තේ, සිහිය ඇත්තේ පංචස්කන්ධ නමැති ලෝකයෙහි දැඩි ලෝභය සහ දොම්නස දුරු කොට වාසය කරයි ද එකල ඔහුට මුළා නොවූ සිහිය ඇත්තේ වේ.

යම් කලෙක යෝගාවචරයා හට මුළා නොවූ එළඹ සිටි සිහි ඇත්තේ වේ ද එකල්හි සති සම්බෝධි අංගය පටන්ගන්නා ලද්දේ වේ. පටන් ගන්නා ලද්දේ එය වඩයි. එය සම්පූර්ණ වීමට පැමිණෙයි.

යම් කලෙක එසේ සිහියෙන් වාසය කරන්නා වූ යෝගාවචර තෙම ඒ ධර්මය සොයයි ද පරීක්ෂා කරයි ද විමසීමට පැමිණේ ද එකල්හි ඒ යෝගාවචරයා විසින් ධම්මවිචය සම්බෝධි අංගය පටන්ගන්නා ලද්දේ වේ. පටන්ගන්නා ලද්දේ වඩයි. එකල ඔහුගේ ධම්මවිචය සම්බෝධි අංග භාවනාව සම්පූර්ණ බවට පැමිණෙයි.

ඒ ධර්මය නුවණින් සොයන්නා වූ ද පරීක්ෂා කරන්නා වූ ද විමසීමට පැමිණෙන්නා වූ ද ඒ යෝගාවචරයාගේ නොපසුබස්නා වීර්යය පටන් ගන්නා ලද්දේ වේ ද එකල ඒ යෝගාවචරයා විසින් විරිය සම්බෝධි අංගය පටන් ගන්නා ලද්දේ වෙයි. එකල්හි හෙතෙම එය වඩයි. එය සම්පූර්ණ බවට පැමිණෙයි.

යම් කලෙක පටන්ගන්නා ලද වීර්ය ඇත්තා හට නිරාමිස ප්‍රීතිය උපදී ද එකල්හි එම යෝගාවචරයා විසින් පීති සම්බෝධි අංගය පටන්ගන්නා ලද්දේ වෙයි. හෙතෙම එය වඩයි. එය සම්පූර්ණ බවට පැමිණෙයි.

ප්‍රීති සිත ඇත්තහුගේ කය ද සංසිඳේ. සිත ද සංසිඳේ. එකල්හි ඔහු විසින් පස්සද්ධි සම්බෝධි අංගය පටන් ගන්නා ලද්දේ වෙයි. එකල හෙතෙම එය වඩයි. එය සම්පූර්ණ බවට පැමිණෙයි.

යම් කලෙක සංසිඳුණා වූ කය ඇති යෝගාවචරයාගේ සිත එකඟ වේ ද එකල සමාධි සම්බෝධි අංගය පටන්ගන්නා ලද්දේ වෙයි. හෙතෙම එය වඩයි. එය සම්පූර්ණ බවට පැමිණෙයි.

යම් කලෙක එසේ එකඟ වූ සිත් ඇති යෝගවචර තෙම මනා කොට මධ්‍යස්ථ වූයේ ද එකල උපේක්ෂා සම්බෝධි අංගය පටන්ගන්නා ලද්දේ වෙයි. එය වඩයි. එය සම්පූර්ණ බවට පැමිණෙයි.

මෙසේ පුරුදු කරන ලද්ද වූ වඩන ලද්ද වූ සතර සතිපට්ඨාන සප්ත බෝධි අංග සම්පූර්ණ කරයි. කෙසේ පුරුදු කරන ලද කෙසේ වඩන ලද සප්ත බෝධි අංගයෝ විජ්ජා විමුක්තිය සම්පූර්ණ කෙරේ ද? මේ ශාසනයේ යෝගාවචර තෙමේ විවේකය ඇසුරු කළා වූ, නොඇලීම ඇසුරු කළා වූ නිරෝධය ඇසුරු කළා වූ, නිවනට නැමුණා වූ, සප්ත බෝධි අංග වඩයි. මෙසේ වඩන ලද, මෙසේ පුරුදු කරන ලද සප්ත බෝධි අංගයෝ විජ්ජා විමුක්තිය සම්පූර්ණ කරති (ම.නි. iii, ආනාපාන සති සූත්ත).

යම් සේ ඇතුන් දමනය කරන්නෙක් මහත් කණුවක් පොළොවේ සිටුවා වල් ඇතුන්ගේ ස්වභාවය මැඬීම පිණිස, ගති මැඬීම පිණිස, ගමෙහි ඇලීම පිණිස, මනුෂ්‍යයන් කැමැති කරවන ස්වභාවයන්හි පිහිටුවීම පිණිස වල් ඇතාගේ බෙල්ලෙන් බඳී ද එපරිද්දෙන් ම මේ සතර සතිපට්ඨානයෝ ගිහි ගෙය ඇසුරු කොට පවත්නා ස්වභාවයන් මැඬීම පිණිස, ගිහි ගෙය ඇසුරු කළ වචන අදහස් මැඬීම පිණිස, ගිහි ගෙය ඇසුරු කළ දාහ, ක්ලාන්ත, දැවිලි මැඬීම පිණිස, සත්‍ය මාර්ගයට පැමිණීම පිණිස, නිවන් අවබෝධ කිරීම පිණිස ආර්ය ශ්‍රාවකයාගේ සිත බැඳ තබන්නා වූ අරමුණු වෙති (ම.නි. iii, දන්තභූමි සුත්ත).

# අටවැනි පියවර

# නිවැරදි සමාධිය (සම්මා සමාධි)

## නිවැරදි සමාධිය යනු කවරේ ද?

සිතෙහි යම් එකඟ බවක් (චිත්තේකග්ගතා) වේ ද එය සමාධිය යනුවෙන් හැඳින්වේ.

සම්මා යන පෘථුල තේරුමෙන් ගත් කල සම්මා සමාධිය වනාහි සැම කුසල චිත්තයක ම පහළ වන සිතෙහි එකඟ බවක් හෙයින් යටත් පිරිසෙයින් නිවැරදි සංකල්පනාව (දෙවැනි පියවර), නිවැරදි වෑයම (සයවැනි පියවර), නිවැරදි සමාධිය (සත්වැනි පියවර) යන මේවා සමග සම්බන්ධ ව පවතී. මිච්ඡා සමාධිය අකුසල චිත්තය තුළ පමණක් පහළ වන හෙයින් එය කාමාවචර සිතෙහි පමණක් මිස ඊට වඩා උසස් සිතක ඇති විය හැකි නොවේ. සූත්‍රයෙහි සමාධිය යන පදය තනි ව යෙදී තිබෙන සැම තැනක ම සම්මා සමාධිය පිළිබඳ ව ම යෙදී ඇත.

### එම සමාධිය සඳහා අරමුණු

සතර සතිපට්ඨානය (සම්මා සති) එම සමාධිය සඳහා අරමුණු වේ.

### එහි අවශ්‍යතා

සතර සම්‍යක් පධාන වීර්යය නිවැරදි සමාධිය සඳහා අවශ්‍යතා වේ. එනම් නූපන් අකුසල් නූපදීම, උපන් අකුසල් දුරු කිරීම, නූපන් කුසල් ඉපදවීම හා උපන් කුසල් වැඩි දියුණු කිරීමයි.

එය වර්ධනය කිරීම

මේ ධර්මයන්ගේ ම යම් පුහුණු කිරීමක්, වැඩීමක්, බහුල කිරීමක් වේ ද එය සමාධි භාවනාව යි (වැඩීම යි). (ම.නි. ii, චූලවේදල්ල සුත්ත).

වැඩුණු ප්‍රමාණය අනුව නිවැරදි සමාධියට තත්ත්ව දෙකකි.
(1) ප්‍රථම ධ්‍යානයට නොපැමිණ ඊට ආසන්න වන උපචාර සමාධිය
(2) ධ්‍යාන සතරෙහි දී පහළ වන අර්පණා සමාධිය. මේ ධ්‍යාන වනාහි පංචේන්ද්‍රියන් අයත් ක්‍රියාකාරිත්වයෙන් ඔබ්බෙහි වූ ද, හුදෙක් හුදෙකලා වාසයේ දී පැමිණිය හැකි වූ ද, අඛණ්ඩ ව ම භාවිත කරන ලද උට්ඨාන වීර්යයෙන් ම පැමිණිය හැකි වූ ද, මානසික තත්ත්ව සතරකි. මේ තත්වයන්හි දී පංචේන්ද්‍රියන්ගේ සියලු ක්‍රියාකාරිත්වය ම අත්හිටවේ. එවැනි අවස්ථාවක දී දෘශ්‍ය හෝ ශ්‍රව්‍ය වේදයිත පහළ නොවේ. කායික වේදයිත නොදැනේ. එහෙත් සියලු බාහිර වේදයිත නැවතුණ ද සිත එසේ ම ක්‍රියාකාරී ව පරීක්ෂාකාරී ව සම්පූර්ණයෙන් ප්‍රබුද්ධ ව පවතී.

මේ ධ්‍යානයන්ට පැමිණීම ලෝකෝත්තර මාර්ග සතර අවබෝධ කරගැනීම සඳහා අවශ්‍යවූවක් නොවේ. එහෙයින් උපචාර සමාධියට හෝ අර්පණා සමාධියට ලෝකෝත්තර මාර්ග සතරට යමකුට සම්ප්‍රාප්තියක් ලබාදෙන ශක්තියක් ද නොමැත. එහෙයින් ඇත්ත වශයෙන් ම ඒවාට කෙනකු පාප ධර්මයන්ගෙන් සදාතනික ව මුදාගැනීමට බලයක් නැත. යමකුට ලෝකෝත්තර මාර්ග සතර ලබාගත හැක්කේ සකල සංසාර ප්‍රවෘත්තිය පිළිබඳ අනිත්‍ය, දුක්ඛ, අනාත්ම යන ත්‍රිලක්‍ෂණය කෙරෙහි ගැඹුරු වූ විපස්සනා පහළ වන ක්ෂණයෙහිදි පමණ ය. තව ද මේ විපස්සනා ලැබිය හැක්කේ උපචාර සමාධියේ දී මිස අර්පණා සමාධියේ දී නොවේ.

කිසි කලෙක ධ්‍යානයක් නොලබා ලෝකෝත්තර මාර්ග සතරෙන් කුමක් හෝ අවබෝධ කරගත් තැනැත්තාට සුක්කවිපස්සක හෝ සුද්ධවිපස්සනායානික, එනම් විපස්සනාව පමණක් ස්වකීය යානය වශයෙන් යොදාගත් තැනැත්තා යන නම යෙදේ. කෙසේ වුව ද

ධ්‍යාන ලාභයෙන් පසුව ලෝකෝත්තර මාර්ග සතරෙන් එකකට හෝ ළඟාවූ පුද්ගලයාට සමථයානික, එනම් සමථය හෙවත් සන්සුන් බව ස්වකීය යානය වශයෙන් යොදාගත් තැනැත්තා යන නම යෙදේ.

ධ්‍යාන සතර

මේ ශාසනයෙහි යෝගාවචර තෙම පංච කාම ගුණයන්ගෙන් වෙන් ව අකුසල ධර්මයන්ගෙන් දුරු ව විතර්ක සහිත වූ විචාර සහිත වූ විවේක හේතුවෙන් හටගත් ප්‍රීතිය හා සැප ඇත්තා වූ පළමුවැනි ධ්‍යානයට පැමිණ වාසය කෙරෙයි (දී.නි. ii, මහාසතිපට්ඨාන සුත්ත).

මේ වනාහි රූපාවචර ධ්‍යානයන්ගෙන් පළමුවැන්න ය. සමාධි බලයෙන් පංචේන්ද්‍රියයන්ගේ ක්‍රියාකාරිත්වය තාවකාලික ව මැඬ පැවැත්වෙන විට ද එමෙන් ම පංච නීවරණ ධර්මයන් තුරන් කළ විට ද එය ලැබේ.

ප්‍රථම ධ්‍යානය අංග පසකින් දුරු ය. අංග පසකින් යුක්ත ය. මේ ශාසනයෙහි ප්‍රථම ධ්‍යානයට සමවැදුණා වූ යෝගාවචරයාගේ කාමච්ඡන්ද, ව්‍යාපාද. ථීනමිද්ධ, උද්ධච්ච කුක්කුච්ච, විචිකිච්ඡාව යන නීවරණ පස නැති වූයේ වෙයි. විතර්කය ද, විචාරය ද, ප්‍රීතිය ද, සැපය ද, සිත එකඟ බව ද (චිත්තේකග්ගතා) පවතී.

ප්‍රථම ධ්‍යානයේ දී පහළ වන මේ චෛතසික අංග පහ ධ්‍යානාංග යනුවෙන් හැඳින්වේ. විතක්ක (සිතිවිල්ලක මූලික අවස්ථාව) සහ විචාර (හාත්පස කරුණු විමසමින් කල්පනා කිරීම) යන මේවා සිත පිළිබඳ වූ වාචසික ක්‍රියා (වචී සංඛාර) නමින් හැඳින්වේ. එහෙයින් ඒවා විඤ්ඤාණය හා සසඳන විට අප්‍රධාන ස්ථානයක පවති. විශුද්ධි මාර්ගයෙහි "විතක්ක" යන්න භාජනයක් අල්ලාගැනීමට උපමා කරන අතර "විචාර" යන්න එය පිස දැමීම හා උපමා කොට ඇත. ප්‍රථම ධ්‍යානයේ දී මේ දෙක ම ඉතා දුර්වල ව පවතින අතර ඊළඟ ධ්‍යානයන්හි දී සම්පූර්ණයෙන් ම අතුරුදහන් වේ.

විතර්ක විචාර දෙදෙනාගේ සන්සිඳීමෙන් තමා තුළ සිත පැහැදීම කරන්නා වූ, චිත්තයාගේ එකඟ බවක් වූ විතර්ක රහිත වූ විචාර රහිත වූ සමාධියෙන් උපන් ප්‍රීති සැප ඇත්තා වූ දෙවැනි ධ්‍යානයට පැමිණ වාසය කරයි.

ද්විතීය ධ්‍යානයට ධ්‍යානාංග තුනක් ඇත. ප්‍රීති, සුඛ, සමාධි වශයෙනි.

තව ද ප්‍රීතියේ නොඇලීමෙන් පසු සිහියෙන් යුක්ත ව, නුවණින් යුක්ත ව උපේක්ෂාවෙන් වාසය කරයි. උපේක්ෂාවෙන් හා සිහියෙන් යුත් යමෙක් සැප විහරණ ඇත්තෙක් යයි කියා ආර්යයන් වහන්සේ කියත්ද, ඒ සැප හෙතෙම කයෙන් විඳී. මෙසේ තුන්වැනි ධ්‍යානයට පැමිණ වාසය කරයි.

තෘතිය ධ්‍යානයේ ධ්‍යානාංග දෙකක් ඇත. උපේක්ෂා සුඛය (උපෙක්ඛා සුඛ) සහ චිත්ත ඒකග්‍රතාව යනු යි (චිත්තේකග්ගතා).

තව ද සැප පහකිරීමෙන් ද දුක පහ කිරීමෙන් ද පසු පූර්වයෙහි ම සොම්නස් දොම්නස් දෙදෙනාගේ නැති වීමෙන් දුක් ද නොවූ සැප ද නොවූ තත්වයක් වූ උපේක්ෂාවෙන්, සිහියෙන් පිරිසිදු වූ ද සතරවැනි ධ්‍යානයට පැමිණ වාසය කරයි (ම.නි. I, වේදල්ල සුත්ත).

චතුර්ථ ධ්‍යානයේ ධ්‍යානාංග දෙකක් ඇත. චිත්ත ඒකග්‍රතාව සහ උපේක්ෂාව යනු යි.

විශුද්ධි මාර්ගයේ කර්මස්ථාන සතළිසක් විස්තර කොට දක්වා ඇත. ඒවා සාර්ථක ලෙස ප්‍රගුණ කිරීමෙන් පහත දැක්වෙන ධ්‍යානයන්ට පැමිණිය හැකි ය.

1. සියලු ම සතර වැදෑරුම් ධ්‍යාන ආනාපාන සතිය, දස කසිණ භාවනා හා සිවුවැනි බ්‍රහ්ම විහාරය වන උපේක්ෂාව මෙනෙහි කිරීම මඟින් ලද හැකිය.
2. පළමුවැනි ධ්‍යාන තුන මෙත්තා, කරුණා, මුදිතා යන පළමු බ්‍රහ්ම විහරණ තුන ප්‍රගුණ කිරීම මඟින් ලද හැකිය.

3. ප්‍රථම ධ්‍යානය දස අසුභ භාවනා හෙවත් කය පිළිබඳව එනම් ශරීරයේ දෙතිස් කොටස් මෙනෙහි කිරීම මඟින් ලද හැකිය.
4. උපාචාර සමාධිය බුද්ධ, ධම්ම, සංඝ යන අනුස්සති සහ ශීලය, දානය, ස්වර්ගය, නිර්වාණය හා මරණය පිළිබඳ අනුස්සති මඟින් ද ආහාරයෙහි ඇති පිළිකුල් ස්වභාවය මෙනෙහි කිරීම මඟින් ද සතර මහා ධාතු විග්‍රහ කිරීම මඟින්ද ලද හැකිය.
5. චතුර්ථ ධ්‍යානය පාදස්ථාන කොට ඇති අරූප ධ්‍යාන සතර ආකාසානඤ්චායතනය, විඤ්ඤාණඤ්චායතනය, ආකිංචඤ්ඤායතන, නේවසඤ්ඤානාසඤ්ඤායතනය භාවනා කිරීම මගින් ලද හැකිය.

1. මහණෙනි, සමාධිය වඩවු. වඩන ලද සමාධිය ඇති භික්ෂු තෙමේ තත් වූ පරිද්දෙන් දනී. තත් වූ පරිද්දෙන් කුමක් දනී ද? රූපයාගේ හටගැනීම ද නැතිවීම ද, වේදනාවගේ හටගැනීම ද නැතිවීම ද, සංඥවගේ හටගැනීම ද නැතිවීම ද, සංස්කාරයන්ගේ හටගැනීම ද නැතිවීම ද, විඤ්ඤාණයාගේ හටගැනීම ද නැතිවීම ද දනී (ස.නි.ii, සමාධිභාවනා සුත්ත).

2. මේ පංච උපදනස්කන්ධ විශේෂ ඥනයෙන් දැන පිරිසිදු ව දත යුතුයි. අවිද්‍යාවත් භව තෘෂ්ණාවත් විශේෂ ඥනයෙන් දැන පහ කළ යුතුයි. සමථයත් විදර්ශනාවත් යන මේ ධර්ම දෙක විශේෂ ඥනයෙන් දැන වැඩිය යුතුයි.

3. මේ වනාහි තථාගතයන් වහන්සේ විසින් අවබෝධ කරන ලද්දා වූ ද ප්‍රඥ චක්ෂුස ඇති කරන්නා වූ ද ඤාණය ඇති කරන්නා වූ ද කෙලෙසුන්ගේ සන්සිඳීම පිණිස ද චතුරාර්ය සත්‍යය දැනීම පිණිස ද චතුරාර්ය සත්‍යය අවබෝධය පිණිස ද නිවන් පිණිස ද පවතින්නා වූ මධ්‍යම ප්‍රතිපදාවයි (ස.නි. v, ධම්මචක්කප්පවත්තන සුත්ත).

4. මේ මාර්ගයට පිළිපන්නා වූ ද මේ මාර්ගයෙහි ගමන් කරන්නා වූ ද ඔබ ඒකාන්තයෙන් දුක් කෙළවර කරන්නාහු ය. (ධම්මපදය-275)

# යෝගාවචරයකුගේ නිර්වාණාවබෝධය සඳහා ආර්ය අෂ්ටංගික මාර්ගය ක්‍රමානුකූලව වර්ධනය කරගැනීම

විශ්වාසය (ශ්‍රද්ධාව) හා නිවැරදි කල්පනාව

යම්සේ ඒ ධර්මය ගෘහපතියෙක් හෝ ගෘහපති පුත්‍රයෙක් හෝ එක්තරා කුලයක උපන්නෙක් හෝ අසයි ද ඔහු ඒ ධර්මය අසා තථාගතයන් වහන්සේ කෙරෙහි ශ්‍රද්ධාව ඇති කරගනී. ඔහු ඒ ශ්‍රද්ධාවෙන් යුක්ත වූයේ මෙසේ සිතයි. "ගිහි ගෙයි විසීම අවහිර සහිත ය. කෙලෙස් දූවිලි උපදින තැනකි. පැවිදි බිම වනාහි එළිමහන් තැනක් වැනිය. ගිහිගෙයි වසන්නකු හට සර්වප්‍රකාරයෙන් ම සම්පූර්ණ වූ මෙම බ්‍රහ්මචර්යාවෙහි හැසිරෙන්නට නොහැකිය. එම නිසා මම කෙස් හා රැවුළ කපා දමා සිවුරු හැඳ ගිහිගෙයින් නික්ම අනගාරික පැවිද්දට එක් වන්නෙම් නම් ඉතා යහපත් ය. ඔහු පසු කාලයක ස්වල්ප වූ හෝ බොහෝ වූ හෝ සම්පත් හැර දමා ස්වල්ප වූ හෝ බොහෝ වූ නෑ පිරිස් හැර දමා කෙස් හා රැවුල කපා දමා සිවුරු හැඳ ගිහි ගෙයින් නික්ම අනගාරික පැවිද්දට පත් වන්නේය.

ශීලය (නිවැරදි වචන, නිවැරදි ක්‍රියා, නිවැරදි දිවි පැවැත්ම)

එසේ පැවිදි වූ හෙතෙම ශ්‍රමණ ධර්මයන් පුරයි. සතුන් මැරීම දුරුකොට ඉන් සම්පූර්ණයෙන් වෙන් වෙයි. බහා තබන ලද දඬු ඇත්තේ, බහා තබන ලද ආයුධ ඇත්තේ, පව් කිරීමෙහි ලජ්ජා ඇත්තේ සියලු සතුන් කෙරෙහි අනුකම්පා ඇති ව වාසය කරයි. තමාට නොදුන් දෙය ගැනීම දුරුකොට තමාට නොදුන් දෙය ගැනීමෙන් සම්පූර්ණයෙන් වෙන්වෙයි. තමාට දෙනතෙක් බලාපොරොත්තු ව සිටිමින් තමාට දුන් දෙය ම ගනී. අවංක වූ

පිරිසුදු වූ සිතින් යුක්ත ව වාසය කරයි. අබ්‍රහ්මචර්යාව දුරුකොට උතුම් පැවතුම් ඇත්තේ ස්ත්‍රී පුරුෂ සංසර්ගය නම් වූ ග්‍රාම්‍ය ධර්මයෙන් වෙන් වී බ්‍රහ්මචාරී වෙයි. බොරු කීම දුරුකොට ඉන් සම්පූර්ණයෙන් වෙන්වෙයි. සත්‍යය ම කියන්නේ, සත්‍යයෙන් සත්‍යය ම ගළපන ගති ඇත්තේ, විශ්වාස කළ හැක්කේ, ඇදහිය යුතු වචන ඇත්තේ, ලෝකයා මුළා කරන්නෙක් නොවේ. කේලාම් කීම දුරුකොට ඉන් සම්පූර්ණයෙන් වෙන් වෙයි. මෙතැනින් ඇසූ යමක් භේදයක් ඇතිකිරීම පිණිස එතැන නොකියයි. එතැනින් ඇසූ යමක් භේදයක් ඇතිකිරීම පිණිස මෙතැන නොකියයි. මෙසේ හෙතෙම භේද වූවන් සමගි කරයි. සමඟි වූවන්ගේ සමඟියට අනුබල දෙයි. සමඟිය ඔහු පිනවයි. මහත් සොම්නසට හා ප්‍රමෝදයට පත් කරයි. තම වචනවලින් පතුරවන්නේ සමගිය ම යි. පරුෂ වචනය දුරු කොට ඉන් සම්පූර්ණයෙන් වෙන් වෙයි. යම් වචනයක් දෙස් නැති ද, කණට මිහිරි ද, ප්‍රියවෙත් ද, සිත සතුටු කරයි ද, තමා ආචාරසම්පන්න බව දක්වයි ද, බොහෝ දෙනාට ප්‍රිය ද, බොහෝ දෙනාගේ සිත් ප්‍රිය කරයි ද එබඳු වචන ම කියයි. හිස්වූ ප්‍රලාප කථා දුරුකොට ඉන් සම්පූර්ණයෙන් වෙන්වෙයි. සත්‍යයට අනුව කාලයට සුදුසු වචනම කථා කරයි. ප්‍රයෝජනවත් දෙයක් ම කථා කරයි. ධර්මයෙන් යුක්ත වූ විනයෙන් යුක්ත වූ වචන කියයි. සුදුසු කල්හි කරන ලද්ද වූ ද කරුණු සහිත වූ ද පමණ දැන කරන ලද්දා වූ ද ප්‍රයෝජනවත් වූ ද ඔහුගේ කථාව නිධානයක් මෙනි.

දවසෙහි එක් වේලාවක (පෙරවරු පමණක්) ආහාර වළඳයි. විකාලයෙහි ආහාර නොවළඳයි. සවස ආහාර වැළඳීමක් නොකරයි. නැටීම්, ගායනා කිරීම්, වැයීම්, විසුළු දැකීම් යන මෙයින් වෙන් වෙයි. මල් ගඳ විලෙවුන් පැලැඳීම්, ඉන් සරසාගැනීම්, අලංකාර කරගැනීම් යන මෙයින් වෙන් වෙයි. උස් ආසන, මහ ආසන පරිහරණය නොකරයි. රන් රිදී නොපිළිගනී. අමු ධාන්‍ය වර්ග, අමු මස් නොපිළිගනී. ස්ත්‍රීන්, තරුණියන්, වැඩකරුවන්, වැඩකාරියන්, එළුවන්, බැටළුවන්, කුකුළන්, ඌරන්, ඇතුන්, ගවදෙනුන්, අශ්වයන්, කෙත් වතු නොපිළිගනී. පණිවිඩ නොගෙන යයි. පණිවිඩකරුවකු

විසින් කළයුතු දේ නොකරයි. මිලයට ගැනීම හා විකිණීම් නොකරයි. කිරන උපකරණයෙන් හොරට කිරීම, රන් නොරන් කිරීම ආදියෙන් හොර කිරීම, මැනීමෙන් හොරට මැනීම, අල්ලස් ගැනීම, අනුන් රැවැටීම, වංචා කිරීම යනාදි වංක වැඩවලින් වෙන් වෙයි. කැපීම, ගැසීම, බැඳීම, සැඟවී සිට වස්තු පැහැරගැනීම, ගම් නියම්ගම් ආදිය පැහැරීම, බලහත්කාරකම් කිරීම යන මෙයින් ද වෙන් වෙයි. හෙතෙම කය ආරක්‍ෂා කරගැනීමට සිවුරෙන් ද, දිවි රැකුමට උපකාරි වන පිණ්ඩපාතයෙන් ද සතුටු වෙයි. යම් සේ පක්‍ෂියෙක් යම් තැනකට පියඹා යේ නම් ඒ සියලු තැනට පියාපත් දෙක ඇති ව පියඹා යයි ද එමෙන් ම ඔහු යම් යම් තැනකට යේ නම් මේ දෙක (පාත්‍රය හා සිවුර) ඇති ව ම යයි. හෙතෙම මේ උතුම් ශීල ස්කන්ධයෙන් සමන්විත වූයේ දොස් නැඟිය නොහැකි සැපයක් තම සන්තානයෙහි විඳියි.

ඉන්ද්‍රිය සංවරය (නිවැරදි වෑයම)

හෙතෙම ඇසින් රූපයක් දැක, කනින් ශබ්දයක් අසා, නාසයෙන් ගඳක් ආඝ්‍රාණය කොට, දිවෙන් රසයක් විඳ, කයෙන් පහසක් ස්පර්ශ කොට, සිතින් ධර්මාරම්මණයක් දැන එම මුළු අරමුණෙහි හෝ ඊට ඇතුළත් කිසිවක නොඇලේ. යම් හෙයකින් ඉන්ද්‍රියන් අසංවර ව වාසය කළ හොත් ඉන් උපදින දැඩි ලෝභය, ද්වේෂය, දොම්නස්, ආශාවන් යන අකුසල ධර්මයන්ගේ හටගැන්ම වැළැක්වීමට උත්සාහ කරයි. ඒ සඳහා ඉන්ද්‍රියයන් රකියි. සංවර කරගනී. හෙතෙම මේ උතුම් ඉන්ද්‍රිය සංවරයන් පුරුදු කිරීමෙන් කෙලෙසුන්ගෙන් කිලුටු නොවූ සැපයක් තම සන්තානයෙහි අත්විඳියි.

සිහිය සහ පැහැදිලි අවබෝධය (නිවැරදි සතිය)

හෙතෙම ඉදිරියට යාමෙහි ද, ආපසු ඒමෙහි ද ඉදිරිපස බැලීමෙහි ද පිටුපස බැලීමෙහි ද සිරුර හැකිලීමෙහි ද දිගු කිරීමෙහි ද සඟළ සිවුරු සහ පාත්‍රා සිවුරු දැරීමෙහි ද අනුභව කිරීම, පානය

කිරීම, සැපීම, රස විඳීම යන මෙහි ද, සිහි නුවණින් කරන්නෙක් වෙයි. මල මූත්‍ර පහ කිරීමෙහි ද, යෑම්, සිටීම්, හිඳීම්, නින්දට වැටීම්, නින්දෙන් පිබිදීම් යන මෙහි ද සිහි නුවණින් කරන්නෙක් වෙයි. කථා කිරීම්, නිශ්ශබ්ද වීම් යන මෙහිද සිහි නුවණින් යුක්ත වූවෙක් වෙයි. උතුම් වූ මේ ශිලයෙන් යුක්ත වූ ද ඉන්ද්‍රිය සංවරයෙන් යුක්ත වූ ද සිහි නුවණින් යුක්ත වූ ද හෙතෙම කැලයක, ගස් මුලක, පර්වතයක, කඳු රැලියක, ගල් ගුහාවක, සොහොන් බිමක, කැලෑවෙන් ගහන උස් තැන්නක, එළිමහනක, හෝ පිදුරු ගොඩක හුදෙකලා වාසයට තැනක් තෝරාගනී. හෙතෙම පිණ්ඩපාතයේ ගොස් ආපසු ආයේ වැළඳීමෙන් පසු ශරීරය කෙලින් තබා සිත අරමුණෙහි පිහිටුවා එරමිණිය ගොතා හිඳ ගනී.

## පංච නීවරණ ධර්ම ප්‍රහාණය

හෙතෙම කාමාශාව, කාමච්ඡන්දය දුරුකොට සිටියි. කාමාශාවෙන් තොර ස්කන්ධ ලෝකයෙහි සිතින් වාසය කරයි. සිත කාමාශාවෙන් තොර කොට පිරිසුදු කරයි. හෙතෙම ක්‍රෝධය (ව්‍යාපාදය) දුරු කොට සිටියි. ක්‍රෝධයෙන් තොර වූ සිතින් වාසය කරයි. සියලු සතුන් කෙරෙහි හිත අනුකම්පා ඇති ව සිත ක්‍රෝධයෙන් තොර කොට පිරිසිදු කරයි. හෙතෙම කය සිත දෙදෙනාගේ අලස බව (ථීනමිද්ධය) දුරු කොට සිටියි. එම අලස බවෙන් තොර ව වාසය කරයි.

ආලෝක සංඥාව ඇත්තේ, සිහිය ඇත්තේ, යහපත් සිහි නුවණ ඇත්තෙක් ව සිත ථීනමිද්ධයෙන් තොරකොට පිරිසිදු කරයි. නොසන්සුන්බව හා සිත් තැවුල දුරුකොට (උද්ධච්ච කුක්කුච්ච) නොසන්සුන් නොවූ සිත් ඇති ව වාසය කරයි. ඇතුළත සන්සුන් සිත් ඇත්තේ, සිත නොසන්සුන් බවෙන් හා තැවුලෙන් තොර කොට පිරිසිදු කරයි. සැකය (විචිකිච්ඡාව) දුරු කොට සිටී. සැකයෙන් තොර ව වසන්නේ, කුසල ධර්මයන්හි සැක නැත්තේ, හෙතෙම සිත සැකයෙන් තොරකොට පිරිසිදු කරයි.

ධ්‍යාන වැඩීම (නිවැරදි සමාධිය)

ඔහු සිත දූෂිත කරන්නා වූ ප්‍රඥාව දුර්වල කරන්නා වූ මේ පංච නීවරණයන් දුරු කොට ඇත. කාමයන්ගෙන් වෙන්ව ම, අකුසල ධර්මයන්ගෙන් වෙන්ව ම, සතර ධ්‍යානයන්ට සම වැද වාසය කරයි. (ම.නි. I, මහාතණ්හාසංඛය සුත්ත)

විදර්ශනාව (නිවැරදි දැකීම)

හෙතෙම එහි රූපගත වූ, වේදනාගත වූ, සංඥාගත වූ සංස්කාරගත වූ විඤ්ඤාණගත වූ යමක් වේ ද, එම ධර්මයන් අනිත්‍ය වශයෙන් ද දුක් වශයෙන් ද රෝග වශයෙන් ද ගණ්ඩ වශයෙන් ද උලක් වශයෙන් ද දුකක් වශයෙන් ද බරක් වශයෙන් ද සතුරකු වශයෙන් ද කරදරයක් වශයෙන් ද ශූන්‍ය වූවක් වශයෙන් ද අනාත්මයක් වශයෙන් ද දකියි. හෙතෙම ඒ ධර්මවලින් සිත නවත්වා නිර්වාණාවබෝධය පිණිස හැසිරෙයි. සියලු සංස්කාරයන්ගේ සංසිඳීමක් වූ සියලු උපධීන්ගේ දුරු කිරීමක් වූ තෘෂ්ණා ක්‍ෂයවීමක් වූ නොඇල්මක් වූ නිරුද්ධවීමක් වූ මෙය ඒකාන්තයෙන් ම නිර්වාණය වේ. හෙතෙම මෙහි සිටියේ ආශ්‍රවයන්ගේ ක්‍ෂය කිරීමට පැමිණේ (අ.නි. V, ඣාන නිස්සය සුත්ත).

නිර්වාණය

මෙසේ දන්නා ඔහුගේ සිත කාම ආශ්‍රවයන් කෙරෙන් මිදෙයි. භව ආශ්‍රවයන් කෙරෙන් මිදෙයි. අවිද්‍යා ආශ්‍රවයන් කෙරෙන් මිදෙයි. මිදුණු කල්හි ''මිදුණෙමි'' ය යන සිත උපදී. නැවත ඉපදීමක් මට නැති විය. උතුම් හැසිරීමෙන් වසන ලදි. කළ යුතු දේ කරණ ලදි. මින් පසු මෙලොව අනෙක් කළ යුත්තක් නැතැයි දැනගනී. (ම.නි. ii, මහසපුප්පුරිස සුත්ත)

මම සදහටම මිදුණෙමි. මේ මා උපන් අන්තිම වාරය යි. නැවත ඉපදීමක් මට නැත. සියලු දුක් සිඳුණා යැයි දැනීම වනාහි උතුම් වූ ආර්ය ප්‍රඥාව යි. යම් රාගය ප්‍රහීණ වීමක් වේ ද, ද්වේෂය ප්‍රහීණ වීමක් වේ ද, මෝහය ප්‍රහීණ වීමක් වේ ද මෙය වනාහි උතුම් වූ නිවන යි (ම.නි.I, අරියපරියෙසන සුත්ත).

නිහඬ චින්තකයා

"මම වෙමි" යනු හිස් සිතිවිල්ලකි. "මම නොවෙමි" යනු ද හිස් සිතිවිල්ලකි. "මම වන්නෙමි" යනු හිස් සිතිවිල්ලකි. "මම නොවන්නෙමි" යනු ද හිස් සිතිවිල්ලකි. හිස් සිතිවිලි වනාහි රෝගයකි, ගණ්ඩයකි, උලකි. සියලු හිස් සිතිවිලි මැඩ පැවැත් වූ තැනැත්තා ඒකාන්තයෙන් සන්සුන් සිතන්නෙක් යැයි කියනු ලැබේ. එම සිතන්නා එම සන්සුන් පුද්ගලයා තවත් නූපදී තවත් නොමැරේ. තවත් කම්පා නොවෙයි. තවත් ආසා නොකරයි. යමකින් නැවත උපදින්නේ ද එය ඔහුට නොමැති හෙයිනි. නැවත නූපදනා හෙයින් කෙසේ ඔහු නැවත දිරන්නේ ද? නැවත නොදිරන හෙයින් කෙසේ ඔහු නැවත මැරෙයි ද? නැවත නොමැරෙන හෙයින් කෙසේ ඔහු කම්පා වෙයි ද? නැවත කම්පා නොවන හෙයින් කෙසේ ඔහු ආසා කරයි ද? (ම.නි. III, ධාතුවිභංග සුත්ත).

සත්‍ය අරමුණ

මේ ශාසන බ්‍රහ්මචර්යාව වනාහි ලාභ, සත්කාර, කීර්ති, ප්‍රසංශා පිණිස නොවේ. ශීල සම්පත්තිය පිණිස නොවේ. සමාධි සම්පත්තිය පිණිස නොවේ. ඥාණ දර්ශනය පිණිස නොවේ. මේ සිතට ක්ලේශාදියෙන් ස්ථිර මිදීමක් වේ ද මේ ශාසන බ්‍රහ්මචර්යාව එම මිදීම පිණිස ම වේ (ම.නි. I, මහාසාරෝපම සුත්ත).

අතීත කාලයෙහි යම් අර්හත් සම්‍යක් සම්බුද්ධ කෙනෙක් වැඩ වාසය කළ සේක් ද, ඒ භාග්‍යවතුන් ද මේ ආකාරයෙන් ම තමන්

වහන්සේගේ ශ්‍රාවකයන්ට නිර්වාණය ම අරමුණු කොටගෙන ඊට මාර්ගය මාගේ ශ්‍රාවකයන්ට මා කියාදුන් සේ කියාදී ඇත. අනාගතයෙහි යම් අර්හත් සම්‍යක් සම්බුද්ධ කෙනෙක් පහළ වන සේක් ද ඒ භාග්‍යවතුන් ද තමන් වහන්සේගේ ශ්‍රාවකයන්ට නිර්වාණය ම අරමුණු කොට ගෙන ඊට මාර්ගය මගේ ශ්‍රාවකයන්ට මා කියා දුන් පරිදි කියාදෙන සේක (ම.නි. ii, කන්දරක සුත්ත).

මගේ පරිනිර්වාණයෙන් පසු ''ශාසනයට දැන් ශාස්තෘන් වහන්සේ කෙනෙක් නැත, අනුශාසනය කරන ශාස්තෘන් වහන්සේ කෙනෙක් දැන් අපට නැතැයි යන අදහස ඔබට උපදින්නට පුළුවන. එහෙත් ඔබ එසේ නොසිතිය යුතුය. මහණෙනි, මා විසින් යම් ධර්මයක්, යම් විනයක් දේශනා කරන ලද ද ඒ ධර්මය සහ විනය මාගේ ඇවෑමෙන් ඔබට ශාස්තෘන් වහන්සේ වන්නේ'' යැයි වදාළ සේක. ධර්මය දිවයිනක් කොට වාසය කරවු, ධර්මය පිළිසරණක් කොට වාසය කරවු. මහණෙනි, අන්‍ය සරණක් නොසොයවු.

මහණෙනි, ඔබට මා විසින් ම අවබෝධ කොට යම් ධර්මයක් දේශනා කරන ලද ද ඔබ බොහෝ ජනයාගේ හිත සුව පිණිස ද ලෝකයාගේ සැනසීම පිණිස ද දෙව් මිනිසුන්ගේ ප්‍රයෝජනය පිණිස ද හිත සුව පිණිස ද බොහෝ කලක් ශාසන බ්‍රහ්මචර්යාව පවතින සේ ද එම ධර්මය හොඳින් යථා තත්ත්වයෙන් තබාගත යුතුයි. එයම රැක බලා ගත යුතුයි (දී.නි. ii, මහාපරිනිබ්බාන සුත්ත).

# ජර්මන් ජාතික අතිපූජ්‍ය ඤාණාතිලෝක මහතෙර

මහතෙරුන් වහන්සේ 1878 පෙබරවාරි 19 වන දින Anton Walther Florus Gueth ලෙස ජර්මනියේ දී උපත ලැබීය. 1903 වසරේදී උන් වහන්සේගේ විසි පස්වැනි වියෙහිදි බුදු දහම වැළඳ ගැනීමට ශ්‍රී ලංකාවට පැමිණියේය. පසුව බුරුමයට ගොස් එහිදී පැවිදි වූ උන්වහන්සේ 1904 දී උපසම්පදාව ලැබීය. එහිදී උන්වහන්සේ බුරුම භාෂාව, පාලි භාෂාව හා ත්‍රිපිටකය ඉතා ගැඹුරින් අධ්‍යයනය කර නැවතත් 1905 දී ශ්‍රී ලංකාවට පැමිණියේය.

1906 දී තෙරුන් වහන්සේ 'Das wort des Buddha' නම් 'බුද්ධ වචනය' ග්‍රන්ථයෙහි මුල් ග්‍රන්ථය ප්‍රකාශයට පත් කළේය. එය 1907 දී 'The word of the Buddha' ලෙස ඉංග්‍රිසි පරිවර්තනය ප්‍රකාශයට පත් කළේය. එය පසුව ලොව පුරා ප්‍රචලිත ග්‍රන්ථයක් බවට පත්විය.

ලොව පුරා ධර්ම ප්‍රචාරයෙහි යෙදි නැවතත් ශ්‍රී ලංකාවට පැමිණ 1911 දී පොල්ගස්දුව දූපතෙහි කුටි සාදා ප්‍රථම වරට වස් විසීය.

1914 දී උන් වහන්සේ ජර්මන් ජාතිකයෙකු බැවින් ඉංග්‍රීසීන් විසින් පළමුවන ලෝක යුද්ධයේදී සිරගත කර 1916 දී නිදහස් කරනු ලැබීය. එලෙසම දෙවැනි ලෝක යුද්ධයේදී ද 1939 වසරේ සිට 1941 වසර දක්වා ද සිරගත කරනු ලැබීය.

1936 දී සුප්‍රසිද්ධ ඤාණාපොනික තෙරුන් වහන්සේ ඤාණාතිලෝක තෙරුන් වහන්සේ ගුරු තනතුරේහි තබාගනිමින් පැවිදිවිය. 1952 දී පිහිටවනු ලැබූ ජර්මන් ධර්මදූත සමාගමේ ප්‍රථම අනුශාසක වූ උන්වහන්සේ ජර්මනිය ඇතුළු අන් රටවල බුදු දහම ප්‍රචාරය සඳහා සුවිශාල මෙහෙයක් ඉටු කළේය.

මහ තෙරුන් වහන්සේ අවුරුදු 79ක් ආයු විඳ 1957 මැයි 28 වන දින අපවත් වූහ. එම ආදාහනෝත්සවය එවකට අග්‍රාමාත්‍ය එස්.ඩබ්ලිව්.ආර්.ඩී. බණ්ඩාරනායක මහතාගේ මූලිකත්වයෙන් කොළඹ නිදහස් චතුරස්‍රයේදී පැවැත්විය.

(අන්තර්ජාලය ඇසුරෙන්)